# පෙරටු බස

ආදම් ගේ උයන, සිමංඩු (=සිමන්දූ)[1], පළේසිමංඩු (=පළේසිමන්දූ)[2], දිල්මුන්[3], පන්(ඩ)[4], පන්හෙයි[5], ටැප්රබේන්[6], සිරන්ඩිබ්[7], සළිකේ[8], සිළදිබ්[9], සෙයිලාන්[10], සිලාන්, ඊළාම් (=සිහළම්)[11], ළංකා (=හෙළන්කා)[12], ඉළන්කෙ[13], ආදි නම් රැසෙකින් අනාදි කාලයක් තිස්සේ ලො පතළ වූ රටෙකි ළංකාව.

ළංකාව පිළිබඳ හැම නමක් ම සිංහළ මුලින් නැඟුණු හෙයින් රටෙහි මෙන් ම මේ දිව් වැසි සිංහළයන් ගේ ද මුල ඉතා යටට ඇදුණක් බව පෙනේ. මෙ කියන සිංහළයෝ නම් කවුරු ද? ආදියේ සිට ම හෙළ නමින් පළ වූ ද, අසුර, රකුස් නා, යක් නමින් විටින් විට රටේ බලයට පත් වූ ද සිව්හෙළ ජනයා යි. අදත් සිංහළ භාෂාවට හෙළ බස යනු ද පරියාය නාමයෙකි. මේ හෙළ බස වේද සකුව හැඩ ගැසෙන අවදියේ ද ලොවේ ජීවත් වූ බසක් බවට වේද සකුයෙහි තිබෙන හුදු හෙළ වදන් දෙස් දෙයි. වේද සකුව දකුණු ආසියානු කිහිප බසෙකින් වදන් ණයට ගෙන ඇති බව පුවසුරු ටී. බරෝස් ඔහු ගේ පොතින් දක්වයි.[14], වේද සකුව පමණක් නො ව සකු බස සැකැසීමෙහි ද හෙළ වදන් පදනම් වී ඇති සැටියෙන් පෙනෙන්නේ හෙළ බසත් එ බස හිමි හෙළ රැසත් (සිංහළ වරිගයාත්) ඉතා පැරැණි යටගියාවකට හිමි කම් ඇත්තන් බව යි.

'හෙළයන් ගේ බිම' යැ යන අරුතින් ළංකා (හෙළන්-කා) වූ මේ බිම ද ආදියේ මහ දිවයිනක් ව තිබී පසු ව මුහුදු ගිලුම් කිහිපයක් නිසා මැදගස්කර, කොමරෝ, සෙචිලිස්, මුරුසි, කොකෝස් ආදි දිවයින් රැසක් ඉතිරි කොට කඩින් කඩ ඉන්දීය සයුරේ ගිලීගිය බවත් මිනිස් සැබියාවේ මුල මෙය විය හැකි බවත් අලෙක්සැන්ඩර් කොන්ඩ්රටෝව් පවසයි.[15]

---

1. සිමංඩු - (ඉසි + මනු + දූ) - නායක මනුහු ගේ දූපත
2. පළේ සිමංඩු - (පළ + ඉසි + මනු + දූ) - පරසිදු මනු රජු ගේ දූපත
3. දිල්මුන් - (දිව් + ඉල් + මනු > දිල් + මනු > දිල් + මුන්) - මනු ගේ දූපත් බිම
4. පන් (ඩ) - බිම (උලපන, මාරපන, යාපන ඈ සස.)
5. පන්හෙයිය - (පන් + සහවි-පන්සායි-පන්හෙයි) - දූපත් සාවිය (සමූහය)
6. ටැප්රබේන් - (දිප්රාවන්) - රාවන දූව
7. සිරෙන්ඩිප්- (සිව්හෙළන්දිප් - සිළෙන් දිප්-සිළන්දිප්-සිරන්ඩිබ) - සිව්හෙළයන් (සිංහළයන්) ගේ දූව
8. සළිකේ- (සිහළකේ - සහළිකේ- සළිකේ) - සිහළ බිම
9. සිළදිබ-(සිහළදිව-සිළදිව-සිළදිබ) - සිහළදීපය
10. සෙයිලාන්-(සිංහළආන්-සිංහළාන්-සෙහිළාන්-සෙයිලාන්) - සිංහළබිම
11. ඊළාම්-(සිංහළම්-ඊළම්) - සිංහළයන් ගේ රට
12. ළංකා-(හෙළන්කා-ළන්කා-ළංකා), හෙළයන් ගේ බිම, හෙළබිම
13. ඉළංකෙ-(ළංකා යනු දෙමළ බසට ගත් සැටි යි. සකු-ලංකා)
14. Vedic Sanskrit by T. Burrows.
15. The Riddles of the Three Oceans by Alexender Kondratov.

කොන්ඩරටෝව ගේ මේ කල්පිතය ගොඩ නැඟී ඇත්තේ ඔහුට කලින් විසූ ජර්මන විද්‍යාඥ වැගනර් පළ කළ එබඳු ම කල්පිතයක් මත ය.[16] එයින් දක්වෙන්නේ අද පවත්නා මහාද්වීප පහ ම කලින් තනි ගොඩ බිමක් ව තිබී හිරු ගේත් සඳු ගේත් ඇදුම් කෑමක් නිසා උතුරු දකුණු මහ දිවයින් දෙකකට කැඩී ගොස් මේ තතුවට පත් වූ බව යි.

මිනිස් පරිණාමය ගැන කරුණු දක්වූ ඩාර්වින් හක්ස්ලි ආදී වියතුන් ගේ මතය විමසන පෙඩ්රික් ඒන්ජල්ස්, ඒ පිළිබඳ ව සමාන මතයක් පළ කළ පිලිප් ස්ක්ලැටර් හට එකඟතාව පළ කරමින් දූනට ඉන්දීය සයුරු පත්ලේ වැඩි හරිය යට වී ඇති මෙ මහ බිම් කඩ මානව වර්ගයා ගේ මුල් බිම වූ බවට ඉඟියක් කරයි[17].

දූනට බළංගොඩ පෙදෙසේ කැණීමෙකින් ශිරාන් දූරණියගල සූරින් මතු කොට ඇති මිනිස් ඇට සැකිලි අනුව මෙයට අවුරුදු 30,000කට පෙර ද මෙ බිමේ ජනාවාස වූ බව පැහැදිලි වේ. ගංගා නිම්න සභ්‍යත්වය අතින් ද ලංකාව සුමේරිය, මිසරය ආදි රටවල් හා උරින් උර පැහැසී හෝ ඇතැම් විට ඒ රටවලට වඩා පෙරමුණෙන් හෝ සිටි සැටියෙකි. ශිෂ්ට ලෝකයේ ආදි ම රජු ලෙස සැලැකෙන මහා සම්මත රජු අයත් මනු (අසුර) යුගය අපේ ගොවි යුගයේ මුල් අවදිය විය හැකි ය. සිව, කතරගම, ගණ, උමා, සරසවි ආදි අපේ පැරැණි ම දෙවිවරුන් මේ යුගයට අයත් සේ සැලැකිය හැකි ය.

## ලක රැකි සතර දෙවිවරු

ලක රකිනා සතර වරම් දෙවි කෙනකුන් ගැන ලංකාතිලක සෙල් ලිපිය සඳහන් කරයි[18]. ඔහු නම් සමන්, බොක්සැල්, උපුල්වන්, විබීසන, කතරගම යන සිවු මහ දෙවිවරු යි.

මේ ඇත්තන් දෙවි බවට පැමිණෙන්නට පෙරාතු ව ද, දෙව් නමින් ම හැඳින්වුණු අපේ පැරණි රජවරුනැ යි ගැනීමට කරුණු ලැබෙයි.

මී ළඟට නැඟෙන පැනය නම් සමන්, උපුල්වන්, විබීසන,

16. එහි ම 126 පිටුව
17. එහි 128 පිටුව
18. 4 වැනි බුවනෙකබා රජු ගේ සෙල් ලිපිය

කතරගම යන සිවු දෙවිවරුන් මෙහි රජුන් ලෙස ජීවත් වූයේ කවර යුගයේ ද යන්න යි. සමන්, උපුල්වන් දෙ පළ බුදුන් මෙහි වඩින යුගය හා ඈඳා ලබන සඳහන් අනුවැ ඔවුන් එ කල මෙහි වූ පාලකයන් ලෙස ගත හැකි ය.

බුදුන් කතරගම වැඩි පුවතත්, කිරිවෙහෙර බැඳීමේ පුවතත් හා බැඳුණු මහසෙන් නම් රජකු ගැන අපේ වංස කතා කියතත් ලංකාරක්ෂක ගණයෙහි වැටෙන කතරගම මහසෙන් දෙවිඳු වඩා ම පැරැණියාවට යන්නෙකි. විබීසන දෙවිඳුන් නරදෙව් වැ මෙහි උන් අවදිය රාවන යුගයට එ නම් (කිතු වසින් පෙර 2500ට) යෙයි. කතරගම දෙවිඳුන් ගේ පියා - එ නම් සිව දෙවියා, දෙවියකු ලෙස රාවන යුගයෙහි ද ඇදැහීම් ලද සැටියෙන් පෙනී යන්නේ කතරගම දෙවියන් නර කයින් මෙහි රජ කළ යුගය රාවන යුගයට ද එහා (කි.පෙ. 10,000) යන බව යි.

## සිව දෙව් රජ පවුල

සිව දෙවියා ගැන ද අද අපේ බොහෝ දෙනා සිතීමට පුරුදු වැ ඇත්තේ ඔහු දඹදිවින් මෙහි ආවකු ලෙසට යි. එහෙත් සිව දෙවියා ද ආදි ම හෙළ රජකු ලෙස ගැනීමට තරම් කරුණු වෙයි. සිව ඇදැහීම පවා දඹදිව ගියේ හෙළදිවිනි. මෙය වූයේ රාවන බියෙන් ලංකාව හැර උතුරු දඹදිවට ගිය කුවෙර රජු සමඟ වූ බවට රාමායණයෙන් දෙස් ලැබේ.

ලක්දිවින් කුවෙර රජු පැහැරගෙන ගොස් කයිලාසයේ පිහිටැවූ හ යි කියන සිව දෙවියා (ඇතැම් විට ලිංගය) පෙරළා ගෙන ඒමට ගිය රාවන, කෙලෙස් කුළ සෙලැවූ පුවත රාමායණයේ සඳහන් වනුයේ අතිශයෝක්තියෙන් බව ඇත්ත ය. එහෙත් එයින් කියැවෙන්නේ හෙළදිවින් රාවන යුගයෙහි සිව ඇදැහිය උතුරු දඹදිවට යෑමේ කතා පුවත මිස අනෙකක් නො විය හැකි ය.

දෙවන පෑතිස් රජු ගේ පිය තිරිඳා ද සිව නම ඇත්තෙකි. මේ සිව යන්නෙහි තේරුම සුබ හෙවත් යහපත යන්න යි. සිව දෙවිඳු ගේ විරුදු නම වන 'නටරාජ' යන්නෙහි එන 'නට' යනු 'නට'- නැටුමෙහි සිංහල කිරිය මුලින් මිස දඹදිව් බසෙකින් ලැබිය හැක්කෙක් නොවේ. දෙමළ බසට නඩරාස වූයේ ද අපේ 'නැටුම් රජ්ජුරුවෝ' යන තේරුම ඇති මේ නටරාජ යන්න යි.

ඩම් හඬ අරනුයේ - නඟනුයේ, ඩමරු යි. සිව දෙවියා ගේ ඩමරුව නම් වූ ඒ බෙර ගෙඩිය අපේ ම උඩැක්කිය මිස දඹදිව් බෙරයක් නොවන බව මේ ඩමරු නමත් සිව දෙවියන් ගේ පැහැදීම සඳහා අදත් අප වයන උඩැක්කි පදයත් පවසයි. බෙර යනු ද නිපන් හෙළ වදනෙකි. බෙ (කුහර) ඇතියේ බෙ + ර > බෙර යි.

සිව පත්නිය උමාව යි. උමා යන්නෙහි සිංහළ තේරුම උතුම් මව යන්න යි. පසු කලෙක දෙව් බවට ගිය කඳ කුමරු, ගණිසුරු යන පින්වත් දරුවන් ගේ මව වූ හෙයින් - දේව මාතා වූ හෙයින් - ඇත්තට ම ඕ උමා (උ+මා) වූවා ය. මේ අරුත සිංහළයෙන් විනා අන් බසෙකින් ලැබිය හැක්කේ නො වේ. සකු බසෙහි උමාපති (ඊශ්වර), උමාසුත (ගණිසුරු), උමාගුරු, උමාජනක (හිමවත්) ආදි හැම නමකට මුල් වූයේ අපේ මේ සිංහළ උමා නම යි.

උමාවට ගිරිඳු යැ යි ද නමෙකි. එය කන්දෙහි දුව යැ යි ගෙන ඇය හිමාලය පර්වතයා ගේ දූ පාර්වතී යැ යි දඹදිව් ඇදුරෝ දක්වති. එහෙත් දඹදිවට ගියේ පණ පිටින් ම සිව නො ව මළ පසු දෙව් බවට ගිය සිව යි, හෙවත් සිව ඇදහිය යි. එ හෙයින් මේ ගිරි දුව හෙවත් සිව පත්නිය සිව රජ කළ මේ රටේ කඳු රටේ රජ දුවක ලෙස ගැනීම කවර වරද ද? මෙහි ඇය දක්වෙනුයේ සමනොල පෙදෙසේ ගිරි නම් යක් රජු ගේ දුව ලෙස යි.

මේ සමනොල යන්න ද නිරුත් විසින් සිව දෙවොල ලක් කොට තැනුණු නමෙකි[19]. මේ නම ද රාවන යුගය තරම් ම පැරැණි ය.

මෑත කලෙක දෙමළ බසට හැරැවීමෙන් විරූ වූ නම් ඇති ආදි සිංහළ හිරු දෙවොල් හා ඉසුරු නම් ඈඳී ඇති සැටියෙන් පෙනෙන්නේ හිරු ඇදහීමට අනතුරු ව මේ ඉසුරු ඇදහීම ද එයට ම මුසු වූ බව යි[20].

හිරු දෙවිඳු ගේ මවන රකින වනසන තෙ බලය බඹ, විස්නු, සිව නමින් පසු කලෙක ගත් බවට දෙස් අපේ ඉපැරැණි හිරු මතුරු ඇසුරින් ලැබේ[21].

අපේ හිරු මතුරු, හිරු තොහු, ගී ආදියෙන් ද හෙළි වී පෙනෙන

---

19. සිවයන් ගේ ගෙය (දෙවොල) - සිවන් + ඔල > සිවනොල > සවනොල > සමනොල
20. හිරු දෙව් ඉසුරු - තිරුකේතිස්වරම් ፡ හිරු ගණ ඉසුරු - තිරුකෝණේස්වරම්
21. "...ලෝ අරඹ බලාම්, ලෝ පවත බලාම්, ලෝ විනස් බලාම් ත්‍රිබලාම්... ඉති යූ බඹු විස්නු ඊස්වර් බලාම්..."

ඇත්තෙකි. එ නම් දඹදිව් ඇජරන් ගේ ඍග් වේදයට මුල් වූ ඉරු වේදයක් මෙහි පැවැති බව යි[22].

ඍග් වේදයෙහි එන ඇතැම් වදන් එ දා දිවමන් ව පැවැති දකුණු දඹදිව් බස් ඇසුරින් ගැනුණු බව පුවසුරු බරෝස් ඔහු ගේ පොතෙහි පවසා ඇති බව පෙරින් ද කියැවිණ.

මෙ කියන සකු බසට ගුරු වූ වදන්වලින් රැසක් ම හෙළ වදන් ය. මෙයින් පෙනෙන තවත් කරුණෙක් නම් උතුරු දඹදිවට අපේ වදන් පමණක් ම නොගිය බව යි, අපේ දෙවියන් ද ගිය බව යි. බඹ, විස්නු, ඉසුරු ඈ අපේ ම වදන් බ්‍රහ්ම, විෂ්ණු, ඊශ්වර යන වචනවලට වඩා අරුත් බර බව මෙයට නිදසුනෙකි.[23].

ඊශ්වර යන්න සකු බසෙහි නායකයා යන අරුත දෙයි. සිංහළ ඉසුරු යන්න ඒ අරුත ද දෙන අතර තව අරුත් කීපයක් ද දෙයි. සකුයෙහි ඊශ්වර යන්නට වඩා සිංහළ ඉසුරු යනු නිරුත් කීපයකට වැටෙන වඩා පුළුල් වදනෙකි. වදනෙහි මුල් අයිතිය සෙවීමේ දී මේ විබෙදු ගුණය පිහිටට වැටෙන්නෙකි.

පඬෙරඟ යනු සිව දෙවියා ගේ පැහැය සලකා දෙවුණු නමෙකි. පඬෙර නම් හෙළ නෙලුම් ය. අඟ නම් ඇඟ යි. සිවයා හෙළ දෙවියකු බවට මේ ද දෙසෙකි.

දැන් සිව දෙවිඳු ගේ පුතු සේ සැලැකෙන කතරගම දෙවිඳු ගේ වතගොත මඳක් විමසා බලමු. ආදි ලක් රජකු වූ මොහු කතරගම රජ පෙළේ කෙනකු වූ බවට වාද නැති. තාරක පත්ම රජු හා කළ සටනින් පැවැසෙන්නේ මෙ රජ අසුර යුගයේ වූවකු බව යි. මෙ කියන අසුර යුගය නම් රාවන  රජු ගෙන් ඇරැඹි රකුස් යුගයට (කි.පෙ 2500) පෙරාතු ව මෙහි පැවැති හෙළ රජ යුගයෙකි. ගොවි යුගයෙන් ඇරැඹෙන්නා වූ මේ අසුර යුගය මෙයට අවුරුදු දස දහසකටත් පෙරැ ඇරැඹුණක් බවට දඹදිව දේව කතා ඇසුරින්, වෙසෙසින් විස්නු ගේ අවතාර කතා ඇසුරින් කරුණු ලැබේ. ලොවේ ආදි ම වෙද්දු ද රන් නම් ලෝහය

22. සරණම්ද් සදහ් අක් ඕං බරාඩ් බරහ්මෝ
    සරණම්ද් සදහ් තිල් මහා රක්කු විස්නූ
    සරණම්ද් වනහස් ඕං බූස්සී ඊස්වර්
    සරණම්ද් පූනා තිත් ඕං සද් වජාමෝ

23. වෙසෙසින් අඹනුයේ බි + අඹ > බඹ ඃ සියල්ල (විස්) දත්තෝ (නු) > විස්නු.

ලොවට දුන්නෝ ද, රටවල් සොයාගිය මුල් ම මනු රජවරු ද මේ අසුර හෙළයෝ ම වෙති.

සිව පෙළෙහි කන්දේ මහසෙන් කුමරා අයත් වනුයේ ද තාරක පත්ම අසුර රාජයා අයත් වූ අසුර පෙළපතට ම වෙයි.

සකු බසින් මේ දෙවියා හැඳින්වෙනුයේ ස්කන්ද නමිනි. දෙමළ බසින් කන්දසාමි යනුවෙනි. මේ දෙකට ම මුල් වූයේ 'කන්දේ දෙයියෝ' යන්න යි. කන්ද යනු කඳු යන සිංහළ මුලින් නැඟුණු වදනෙකි. කඳු යන්න ද කඳ යන වදන් මුලින් නැඟුණෙකි. කඳනුයේ - කඳක් ඇතියේ කඳු යි. පොළොවින් මතු වී පස් කඳින් කැපී පෙනෙන බිම් කඩට කඳු යැ යි අපේ මුත්තෝ කී හ. මේ නිපන් හෙළ වදනෙකි. වැඩහිටි කන්දේ වෙසෙමින් කන්දේ දෙවි බවට ගිය කතරගම දෙවිඳුන් ගේ සිංහලත්වයට මේ කඳ දෙවි නම මැ හොඳ නිදසුනෙකි.

මහසෙන්, සෙන්කඳ (හෙණකඳ, සෙංකඩ) සෙන්නා (හෙන්නා)[24] යනු ද කතරගම දෙවියන් ගේ සිංහළ කම හඳුන්වන තව ද නම් ය.

'කාර්තිකේය' යනු කතරගම දෙවිඳුට ද 'කාර්තිකේප්‍රසූ' යනු කතරගම දෙවි මවට ද සකු නම් වෙයි. කාර්තිකේය යන්නෙහි තේරුමක් දීමට යතන සකු ඇදුරෝ අපා බොරුවක් ඇද බාති. එහෙත් 'කතර්ගම' යන ආදි නම සකු බසට කාර්තිකේය වී යැ යනු ඇත්තට හුරු ය.

'වේල්' යනු ද කතරගම දෙවිඳුට නමෙකි. වේල් පෙරහැර, වේල් උත්සවය ඈ තන්හි ඒ යෙදෙයි.

මේ 'වේල්' යන්න සකු බසෙහි 'ගමන් කරයි' යන තේරුම ඇති 'වේලති' (යයි) යන ක්‍රියා පදයට මුල් වූ දා පියෙවියෙකි.

සිංහළයෙහි 'වේල්' යනු තව ද කැඩිය හැකි වදනෙකි. වේ නම් වෙය (වේගය) යි. වේ ලනුයේ, වේග දනවනුයේ, වේලු හෙවත් වේල් ය. ගැමුණු සෙබළ මුළෙහි සුමනයා වේලු (වේල්) වූයේත් අසු පිට නැඟී වේගය ගත් හෙයිනි. එ හෙයින් දේව කතාවේ හැටියට උපන් සත් දිනෙන් කෙසේ වෙතත් ඇත්ත කතාවේ හැටියට නම් සත් දිනක් තරම් වන ඉතා සුළු කලෙකින් වේග දනවා ලද මහ ජය නිසා මේ රජු වේල් නම් වී යැ යි ගැනීම කවර වරද ද?

---

24. දොඩන්දූවේ හෙන්නා (සෙන්නා) තොට, කළුතර තරු රජු හා හටනට යන සෙන්නා (මහසෙන්) කුමරා නවාතන් ගත් තොටක් බව පැවැසෙයි.

## තරු - කඳ රජ පෙළ

**කතරගම**

හයගිව්
(හයග්‍රීව)
ක්‍රි.පෙ. 11117 - 11085

යසස්
11085 - 11040

දෙවිඳු
11040 - 11012

ලක්විජය
11012 - 10977

සිව + උමා[1]
10977 - 10903

මහසෙන් + රුවන්මලී[2] — ගණිසුරු
(කඳ (රත්නවල්ලී
ස්කන්ද) වල්ලි අම්මා)
10903 - 10825

**කලුතොට**

හරි පියුම්
(හරි පත්ම)

සත් වන පරපුර

දෝ පියුම් + වරමදිරා

(ජෝතිය පත්ම)

තරු පියුම් — විරු පියුම් — සුරු පියුම් — නල පියුම් — සරසවි පියුම් + ගංගාමුනි

සරිත්

1. උමා - (උ + මා - උතුම් මව) කඳුරට ගිරි රජ දූ
2. රුවන්මලී - තුන්මලේ තොටැ විරු පියුම් රජ දූ
3. වරමදිරා - වරම රජ දූ
4. මිණි- මහසෙන් නෑ පුතණු

17 සටහන

## සවත් නම

කතරගම දෙවිඳුන් ගේ මූණු සය සංකේතයක් බව අනුරපුර මුල් යුගයේ විසූ අපේ කවියෝ ද දත් හ. පළමු වන අග්බෝ (ක්.ව. 568-631) රජු දවස විසූ දොළොස් මහ කිවියන් අතරේ වූ දළසල කුමර කිවියාණන් කතරගම දෙවියනට එවූ අසුන් කව වන සැරයෙහි,

"කතර්ගම කඳ දෙව්
රදාණෙනි ලද් ස - මලින්
කිරුළෙනි සැදී සවතැ යි
පළ දෙව් සෙනෙවි තන් පත්" (16)

යනුයෙන් පැවැසෙන්නේ කතරගම දෙවියනට කතරගම කඳු හයෙන් ලද වොටුනු හයක් නිසා ස-මුහුණු නම වූ බව යි. එහෙත් මේ මහ කවෙන් දක්වෙන්නේ රාවනයන් දසිස් වූ නියායෙන් ම මහාසේනයන් ද ස-වත් වූ බව යි.

## මෙ රට දෙවිවරුන්
## රට දෙවිවරුන් වීම

සිංහළ දෙවිවරුන් ගේ නම් පාලි, සකු, දෙමළ ඈ බසට හැරැවීමේ දී ඒ නම් මුල් අරුතින් පිට පැන ගිය සැටි සංවේග දනවයි.

විස්නු දෙවියන් අප අද හඳුනන්නේ ළංකාවෙහි ද පුද ලබන උත්තර භාරතීය දේවතා කෙනකුන් ලෙස යි. එහෙත් සකු බසින් මේ දෙවියන් හඳුන්වන 'විෂ්ණු' යන නමට වඩා සිංහළ ගැමියන් ගේ කටට ආදියේ සිට හුරු වූ 'විස්නු' යන නම වඩා ම අරුත් බර බව පෙරින් දක්විණි.

මෙයින් පෙනෙන්නේ විස්නු නමෙහි නියම අරුත ඇත්තේ හෙළ බසෙහි බව යි. මේ අනුව විෂ්ණු සුරයකුට වඩා අසුරයකු සේ ගැන්ම ගැම්මක් ඇති කතාවෙකි. වෙසවුණු (වෛශ්‍රවණ) විබීසන (විභීෂණ) උපුල්වන් (උත්පලවර්ණ) ආදීහු ද මෙ සේ සුර බවට හරවාගැනුණු අසුරයෝ ය.

## උපුල්වන් පවත

උපුල්වන් දෙවිඳුත් විස්නු දෙවිඳුත් එක් දෙවියකු ලෙස සිතන්නෝත් වෙති. එහෙත් දෙ දෙනා දෙ දෙනකු බව ලංකාතිලක සෙල් ලිපිය පැහැදිලි ලෙස ම දක්වයි. තිසර සඳෙස් කරුවෝ ද උපුල්වන් දෙවියන් විස්නු දෙවියන් මෙන් කළු නොවන බව පවසති (තිසර 23). සෙනරත් පරණවිතාන සූරීන් උපුල්වන් යන හෙළ නම පිට රට බසෙකින් පාස්සන්නට බලතත් එ ද විය යුත්තේ එහි ම අනෙක් පැත්තට යි. විස්නු යන නම සේ ම කිහිරැලි උපුල්වන්, සමන් බොක්සැල් ආදි නම් ද සිංහළයෙහි වූ නිපන් නම් බව පෙනෙයි.

දෙවුන්දර පන්සල අදත් හැඳින්වෙන්නේ ඉරුගල් තිලක නමිනි. ඉරුගල් නුවර ආදියේ දෙවුන්දරට වූ නමෙකි. ඉරුගල් යන්නෙහි ද වඩා පැරැණි රුව හිරුගල් යන්න යි.

හිරුගල - හිරිගල් -ගිරිහල් - කිරිහල් - කිහිරල් යැ යි අනාදි කලක් තිස්සේ වූ වෙනසින් පෙනෙන්නේ ද මේ වදනේ සිංහළ බව යි.

කිහිරැලි උපුල්වන් යනු මෙ දෙවියා හට නම් වූයේ හිරුගල් නුවරැ වූ හෙයිනි. හිරුගල් - කිහිරල් වීම හෙළ කටවහරට හුරු යි. කිහිරල් නුවර වූයේ, කිහිරල්හි විසූයේ කිහිරැලි (කිහිරල්+ඉ)යි. මෙහි 'ඉ' යනු ගම්හි වූයේ ගැමි (ගම්+ඉ), නුවරෙහි වූයේ නියැරි (නුවර+ඉ) ආදි තන්හි එන එහි වූයේ ය යන තේරුම දෙන තද්ධිත ප්‍රත්‍යයයෙකි.

කිහිරැලි උපුල්වන් යන මෙ නම අනුව පෙනෙන්නේ උපුල්වන් දෙවියන් ආදියේ ගිරිහෙල පුර විසූ අපේ රජකු බව යි.

කිහිරැලි උපුල්වන් නම පාලි ඇදුරෝ ඛදිර දේහලී උප්පලවණ්ණ යන්නෙන් බිඳගනිති. ඛදිර නම් කිහිරි ලී වෙයි. දේහලී නම් එළිපත්ත යි.

එළිපත්ත දොර උළුවස්සේ පයට නිතර ම පෑගෙන යට කඳ බව අපි දනුමු. මේ කිහිරි එළිපත්තත් (ඛදිර දේහලියත්) රට බඩුවෙකි. රටින් එන කොයි වහංගතයත් අපට ඉහළ හෙයින්, වඳින පුදන දේව රූපයක් තැනීමට මේ තරම් කිහිරි ගස් ඇති මේ රටේ රටින් ආ කිහිරි එළිපත්තක් ම නිසි වීම කවර පුදුමයෙක් ද ! ඇත්තට ම පුදුමය නම් ලොවට පරම

ඇත්ත වදාළ මහතාණන් ද ඇඳගෙන මෙ රට දෙවියකු වන උපුල්වන් රට දෙවියකු කළ පුවත යි. මෙ පුවත පැරකුම්බා සිරිතෙහි (24) මෙ සේ දැක්වෙයි.

"යමල් හල මුනි ලෙසින් වදහළ මෙ රට රකිනුව මෙත් සිතින්
උපුල්වන් දෙව් මහ රදාණන් වඩිනු දැකැ මහ සයුරතින්
විමල් ගුණ යුත් නමින් දාපුලු සෙන් රජෙක් ආ එ මොහොතින්
විපුල් සිරි දෙව් නුවර කරවා පිහිට කැරැවී යහපතින්"

කෝට්ටේ යුගයෙහි විසූ පැරකුම්බා සිරිත් කරුවන් මේ දක්වන උපුල්වන් දෙව් පවතට පදනම් වී ඇත්තේ කපුරාලලා ගේ ප්‍රබන්ධය යි. වාසල මුදලි ගුණවර්ධන සූරීහු ඒ ප්‍රබන්ධය මෙ සේ දක්වති, විසිතුරින්.[25]

"කිහිරි කඳක් වශයෙන් මුහුදෙහි පාවී එන්නා වූ දිව්‍ය රාජ තෙමේ, සුළඟින් හා දියපහරින් ඔබ මොබ ගෙන යන ලද්දේ දක්ෂිණ ලංකාවට ළඟා වී ගිරිහෙල පුර කිරළ වැල්ල වේලාන්තයට රළින් ගොඩ ගසන ලදී. දිව්‍ය රාජයා ගේ ආගමනය හික්කඩුවට සමීප වූ සීනිගම කෝවිලෙහි කපුරාලට සීනෙන් දන්වා තිබුණ නමුත්, දිව්‍යරාජයා පිළිගැනීම පිණිස පෙරහැරින් එන්නා වූ කපුරාල ගේ ගමන මදක් ප්‍රමාද විය. එයින් දිව්‍ය රාජයා අනාථ ලීලායෙන් වෙරළෙහි පතිත ව සිටීම අයොග්‍ය හෙයින් නැවතත් රළයෙකින් දියට බැස පෙරසේ ගමන් කරනුයේ සිංහාසන නම් තුඩුව පසු කොට ගොස් ගිරිහෙළ පුර බටහිර සීමාව අසල වෙරළට සමීප ව පාවෙමින් සිටියේ ය. එ කල පෙරහරින් එන්නා වූ කපුරාල ඒ දැක අතවැසි පිරිවරින් වහා දියට බැස මහත් භක්ත්‍යාදරයෙන් දිව්‍ය රාජයා ගොඩට වඩාගෙන වුත් එතන් සිට මහත් උත්සවයෙන් කර පිටින් ගිරිහෙළ පුරයට වැඩම කරවාගෙන ගියේ ය."

දාපුලුසෙන් රජු දවසැ මූදින් ආ කිහිරි කොටයෙකින් තැනුණු උපුල්වන් රුවක් දෙවුන්දර දෙවොලේ පිහිටුවාලීමේ පුවත සැබෑ විය හැකි වුවත් උපුල්වන් පිටරැටියකු කොටැ දැක්වීම නම් විහිළුවෙකි. උපුල්වන් ඇත්තට ම දඹදිවැ දෙවියෙක් නම් ඔහු ගැන එ රටේ සඳහන් විය යුතු ය. එහෙත් එ වැන්නක් නොවන හෙයින් ද පෙනෙනුයේ ඔහු මෙ රැටියකු බව යි. ලංකාරක්ෂක දෙවියන් සතර දෙනා අතරෙහි ලා සැලැකීමෙන් පෙනෙන්නේ අනෙක් ති දෙනා මෙන් ම උපුල්වන් ද මෙ රටේ ආදි රජකු බව යි.

---

25. කෝකිල සන්දේශ වර්ණනාව

## සමන් බොක්සැල්

ලක් රැකි දෙව් ගණයෙහි ම ඇතුළත් සමන් බොක්සැල් නමින් ගැනෙන දෙවියා ගේ බොක්සැල් නම ම ඔහු ද ආදියේ මෙහි රජ කළ සිංහළ නරපතියකු බවට හොඳ නිදසුනෙකි. මෙහි සිංහළ නම යෙදුණේ අසුර රකුස්, යක් නාග යන සිව්හෙළයන් ම සිංහළයන් ලෙස සලකා යි.

බොක්සැල් යන්නට මුල් වූයේ බොක්කැස් යන්න යි. බොක්කැස් නම් බොකු ඇස් ය. බොකු ඇස් නම් වක් ඇස් හෙවත් වපර ඇස් ය. වක්කැස් > බක්කැස් > බොක්කැස් > බොක්සැල් වීමට හෙළ වදන් නියරින් පිහිට ලැබේ. මේ අනුව සමන් රජු වමරැසියකු වූ බව පෙනේ. වකුනැහැ (වංකනාසික), මහදැළියා (මහ රැවුළ) මහ කළු සිංහළයා, දාසෙන් කැළි (කළු) ආදි විකට නම් සිංහළ රජුනට වූ බව ද සැලැකිය යුත්තෙකි.

මේ කියන සමන් බොක්සැල් දෙවියා නම් බුදුන් බින්තැන්නට වඩිද්දී මෙහි වූ කඳු රටේ යක් නිරිඳ යි (කි.පෙ. 588).

## විබීසන

විබීසන දෙවියා ලංකාරක්ෂක සිවු දෙවියන් අතරේ ගැනෙන හෙයින් ද ළංකාපති රාවන රජු සොහොවුරු හෙයින් ද ඔහු මෙ රැටියකු බව ඉඳුරා පැහැදිලි යි.

නොපැහැදිලි කරුණකට ඇත්තේ ඔහු ගේ විභීෂණ නමට යට වූ සිංහළ නම යි.

විභීෂණ යන්න රාමායණය ඔහු හඳුන්වන නම යි. එහි අරුත ඉතා බිහිසුණු යන්න යි. මෙයත් සිංහළ රජකු ගේ පටබැඳි නමෙක සකු මුහුණුවර විය හැකි යි.

සොන් යනු හෙළ බසෙහි පුතා සඳහා යෙදුණු අදත් යෙදෙන වදනෙකි. මේ පුත් අරුත්හි 'සන්' යන්න ම පදනම් කොටැ නැඟුණු වදනෙකි. පියා ගේ සන (සංඥා) ම ඇතියෙන් පුතා සන් නම ලබයි. මේ සන් යනු සුන්, සොන්, සුත යනුවෙන් ද සිටී. අදත් නියම පියකු නැති ව හොරාට උපදනා පුත් අපේ ගැමියෝ හොර පුතා යන අරුතැති

ඔරිසොන් (හොරසොන්) නමින් හඳුන්වති. හිරු පුත් මහ සම්මත රජ රෝ සොන් (රොහොන්) ය. හිරු පුතු හට උපත දූන් දනවුව රුහුනු (රෝ+සුනු)ය. මේ අනුව පවුලින් බැහැර කළ - අයින් කළ, පුතා බිහිසොන් ය. වෙසෙසින් ම බැහැර කැරුණු පුතා විබිහිසොන් වෙයි. පුලතිසි සනුහරේ ම නැසුමට ආවකු හෙයින් ඇතැම් විට රාවන කනිටු මල් කුමරාට විබිහිසොන් හෝ විබිහිසුනු හෝ අපර නාමයක් වීම නො බැරි ය. ඇතැම් විට සකු බසට විභීෂණ වූයේ මේ සිංහළ විබිහිසොන් යන්නෙන් තැනෙන විබිහිසන හෝ විබීසන හෝ යන්න වැන්නක් විය හැකි ය.

මිනිස් පිරිනමුවෙහි (පරිණාමයෙහි) අග මුල සෙවූ ඩාර්වින් ඒංජල්ස් යන වියතුන් ගේ අදහස් තව ද දුරට විමැසුමකට ලක් කළ හක්ස්ලි ගේ මතය වනුයේ නර වගෙහි මුල ඉන්දියා සයුරේ ගිලීගිය ලිමූරියා (මැඩගස්කරයෙහි සිට සෙව්ලිස් මුරුසි, ළංකා ඈ දූපත් ඉතිරි කෙරෙමින් ගිලීගිය හෙළන්කා) මහ දිවයින විය හැකි බව යි. හක්ස්ලි ගේ මේ මතය තව දුරටත් වගා කරන අර්නස්ට් හැකල් (19 සියවස) පවසන ලෙසට, මිනිස් දම්වැලේ අග (මුල්) පුරුක් (=ආදම්) මානවයා මේ මහ දිවයිනේ සිට වයඹින් ඉන්දියාවටත් ගිනි කොනින් ආසියාවටත් බටහිරින් අප්රිකාවටත් පැතිරී ගොස් ඇති බව යි.[26]

නර වගෙහි මුල යම් බිමෙක වී ද, නරදෙව් (රජ)වරුන් ගේ මූලත් දෙව්වරුන් ගේ මුලත් එ බිම ඇසුරින් ම වී යැ යි ගැනීම වරදෙක් නො වේ. ඉන්දියා සයුරේ දකුණු දිවයිනෙකින් එහි ගොස් පැළපදියම් වූ හ යි කියන දකුණු සුමේරිය මිනිසුන් අදහන දිය ගොඩ දෙකට අදිපති 'ඇම්කි' (ඇංකි) දෙවියා ගේ නමෙහි හෙළ නිරුත වනුයේ දිය (ඇම්) ගොඩ (කි) යන්න යි. ඈත යුගයෙහි (කි.ව.පෙ. 3000?) ඉන්දිය සයුරේ දකුණු දිවයිනෙකින් ගොස් අදත් හෙළ බසින් නිල් දියවැල යැ යන අරුත් ඇති නිල්-නා-හර් යන නමින් හැඳින්වෙන නිල් (නයිල්) ගං දෙණියේ පාරාවෝ (උපහිරු ගොත) පිහිටැවූ නරවර නමැත්තා හා ම අපේ රා (හිරු) දෙවියන් ද එහි ගිය සැටියෙකි. දඹදිවේ දී දෙවියකු වූ විෂ්ණුහු ගේ නම අනුරුත් නමක් වන්නේ අපේ විස්නු (=සර්වඥ) යන්නෙන් ඒ නම සංස්කෘත කැරුණ බව සලකතොත් පමණි. මූදු ගිලුමෙකින් පන් (ළංකා දූපත්) නමින් හැඳින්වෙන සිය මවු බිම වැනැසෙද්දී උතුරු අප්‍රිකාවේ දනවු පිහිටැවීමට ගිය ආදි පිනීසිය ජනයා ගේ දෙව්වරුන් ගේ මුල ද ළංකාවේ බවට ඒ දෙව්වරුන් ගේ නම්හි නිරුතින් ම දෙස් ලැබේ. සුමේරියාවත් ඉරානයත් අතර ඇති කුසිස්තානය සිංහළයන් ගේ රට ය

---

26. The Riddles of Three Oceans, Alexender Kondratov (pp. 127 - 131)

යන තේරුම ඇති ඊළාම් නම් වීම ද මෙ රටින් හෙළයන් එහි ගොස් විසුම් ගත් බවට නිදසුනෙකි.

මොහන්ජෝදාර (සත්ගිරිනාර්) හාරප්පා බිම් කැණීමේ දී ලැබුණු මුද්‍රාවලින් පෙනෙන පරිදි ආදි සිව දෙවියාත් උමා මවු දෙවඟනත් එහි පුද ලද ලෙසෙක් ද පැවැසෙයි. මොහන්ජෝදාර බිම කැණීමෙහි දී ලද මී හරක් අං තට්ටුවක් සහිත අවානේ හැඩයේ කිරුළෙකින් යුතු ව එරමිණිය ගොතා ගෙන යෝග මුද්‍රායෙන් සිංහාසනයෙහි හිඳගෙන ඉන්නා රූපය පශුපති හෙවත් ශිව බව එ ම කැණීම් කළ ජෝන් මාර්ෂල් පවසයි. පශුපති යනු ශිව ගේ පර්යාය නාමයෙකි. එහි තේරුම සතුන් ගේ අදිපතියා යන්න යි. මේ රුව වටා දක්වා ඇති ඇතා, ව්‍යාඝ්‍ර ධේනුව, මුව යුවළ, කඟ වේණා හා මී හරකා යන සතුන් නිසා මේ පශුපති විය හැකි බව ජෝන් මාර්ෂල් පවසයි.[27]

සිව පත්නිය උමා යි. මේ උමා යන්න ම උතුම් මව යැ යන අරුත් ඇති උ+මා යන දෙ වදනින් වූ නමෙකි. කාළි යනු ද ඇයට පර්යාය නාමයෙකි. කාළ, මහා කාළ සේන (කහළ් සෙන්) ආදිය ආදි සිංහළ රජුන් ගේ පොදු නම් වූ අතර කාළි යන්න රජ පවුලේ කාන්තාවන් හට, වෙසෙසින් යක් හෙළ කතුන් හට ගරු නමක් වූ සැටියෙකි. රූ සිරින් හෙබි උමා රුව මව් දේවිය ගේ භද්‍ර වේශය වන අතර මිනී හිස් කබල් මාලාවක් පැළැඳි කාළි රූපය අභද්‍ර අවතාරය වෙයි. මේ මව් දෙවඟන පිදුම මොහන්ජෝදාර කැණීම් අනුව කි.ව.පෙ. 3000 සරියේ උතුරු දඹදිවේ ද පැතිර පැවැති බවට දෙස් ලැබේ.

## සරසවිය

කලාවට අදිපති දෙවඟන සරස්වතිය ලෙස සැලැකේ. ඇය ද දඹදිවින් අපට පහළ වූ දෙවඟනක ලෙස අපේ ඇතැම්හු සිතති. එහෙත් කලා යන්න සේ ම ඇගේ සරසවිය නම ද දක්වන්නේ නිරුත් විසින් කලාවේත් සරසවිය ගේත් මුල් උරුමය ඇත්තේ හෙළදිවේ බව යි.

කලා යන්න සකු බසේ තති වදනෙක් පමණෙකි එහෙත් අපට නම් එය කල් යන මුල් වදනින් වූ තද්ධිත නාමයෙකි. කල් බව - මනහර බව, ඇත්තේ කල් + ආ > කලා යි. නිලා (නිල් + ආ), දුලා (දුල් + ආ), වලා (වල් + ආ) මෙ නියරින් ම වන තව ද හෙළ වදනි.

27. The Penguin Book of Lost Worlds by Leonard Cottrell (p. 222)

සරසවියට අත් හතරෙකි. ඒ අත් සතරේ ඇති පොත දැනුම ද ඇටවැළ සිහිය ද, ගිරවා බස් බිණීමේ සවිය ද, වෙණ රස දැනුම හෙවත් ලලිත කලා නිපුණතාව ද පිළිබිඹු කරන සංකේත යි. මේ සතර සවි යන්න සාරසවි වී සරසවි වීම හෙළ වදන් නියරට එකඟ වෙයි. සරස්වතී යන්න මේ හෙළ සරසවි යන වදනේ සකු පෙරළියක් පමණෙකි. එහි අරුත පොකුණු ඇත්තිය (සරස්වතී) යන්න යි.

මේ සරසවි යන නමින් ද පෙනෙන්නේ ඇය සිංහළ බව යි. හෙළ් (හෙළ) දේවි යනු ද ඉපැරණි සරසවි තොහු ගීයෙක එන සරසවිය ගේ විරුදු නමෙකි.

## රුවන්මලී (වල්ලි අම්මා) දේවිය

කතරගම දෙවිඳුනට බිරියන් දෙ දෙනකු බවත්, ඉන් වල්ලි අම්මා මෙ රට වැදි ගැහැනියක බවත් දේවානි (තේවානි) අම්මා පසු ව දඹදිවින් මෙහි ආ අන් ගැහැනියක බවත් ඉතා මෑතක දී ඇටැවුණු කතාවෙකි. ළංකා ඇරැකි ගණයෙහි වූ කතරගම දෙවිඳුන් පිට රටින් ගොඩ බෑවකු කළෝත් මෙ බඳු බින්න ඇදබෑ කපුවෝ යි.

කතරගම දෙවිඳුන් නර කයින් විසූ අවදිය අයත් වනුයේ අසුර යුගයට යි. ඒ යුගයෙහි මෙ රට පැවැත්තේ එක් බිරියක රැකීමේ සිරිත යි. බහු භාර්යා සේවනය සිංහළයට බෝ වූයේ වඩා ම පසු කලෙක ය.

කතරගම සිව රජ එක් බිරියක (උමාව) පමණක් රැකියෙකි. ඔහු ගේ අන්තඃපුරයක් ගැන කිසි තැනෙක සඳහන් නො වෙයි.

එළාර හටන දිනූ ගැමුණු රජු බාරයක් ඔප්පු කිරීම සඳහා උෟවේ මහා දේවාලයය කැරවූ බව සඳහන් වෙයි. එහෙත් ඒ සමඟ ම අප සිතා බැලිය යුතු තව කරුණෙකි. එ නම් එ රජු අනුරපුරයෙහි නැංවූ මහ සෑය රුවන්මැලි නමින් පළ වූයේ කෙ සේ ද යන්න යි. ස්වර්ණමාලි, සුවණ්ණමාලී යනුවෙන් සකුවට පාලියට පෙරැළුණු මේ මහා සෑයේ මුල් නම රුවන්වැලි නො විය හැකි ය. ඉදින් එහි මුල් නම රුවන්වැලි වී නම් එය සකු පාලි බසට හැරෙන්නේ ස්වර්ණවාලුකා හෝ සුවණ්ණවාලුකා නමිනි. එහෙත් රුවන්මැලි වූයේ එහි මුල් නම රුවන්මලී වූ හෙයිනි. රුවන්මලී සෑය පිහිටි බිමෙහි මුලින් තෙලඹු ගසක් ලක් කොට ස්වර්ණමාලි දෙව් දුව ගේ දෙවොලක් වූ බවත් දෙවොල

අරවා එ නමින් සෑය නංවාලූ බවත් අද ද අප අතර ඇති ස්වර්ණමාලි දෙව් දූ පිළිබඳ කවිවලින් පෙනේ.

අනුරපුර මහ සෑය පමණක් නො ව කැලණි මහ සෑය ද රුවන්මලී නමින් ම ආදියේ සඳහන් වූ බව දනට කැලණි බිමෙහි ම ඇති සෙල් ලිපියෙකින් පෙනේ. මෙයින් පෙනෙන එක් කරුණෙකි. එ නම් රුවන්මලී නමින් දෙව් දුවක ඈත අවදියේ සිට මෙ රට පුරා පුද සත්කාර ලද බව යි. රත්නවල්ලී, ස්වර්ණමාලී ඈ නම්වලින් හැඳින්වුණේත් එක ම දෙව් දුව බවට සැකයෙක් නැති. අද වල්ලි අම්මා යැ යි ගෙන නොයෙක් කතා ගොතා ඇත්තේ ද කතරගම කන්දේ රජු ගේ බිසෝ වූ මේ දේවිය සඳහා ය.

කතරගම දෙව් පුදෙහි මස් මාළු වැරීම වෙසෙසි සිරිතෙකි. කතරගම දෙවිඳුන් ගේ මඟුල් උලෙළෙහි නන්ද නම් වැද්දකු එළැවූ මස් පවා ඉවත් කැරවූ දේව කතාවෙක් ද අප අතරේ වෙයි. මේ කතා ඇසුරින් අප ද සිතා බැලිය යුතු කරුණෙකි. එ නම් තම විවා මඟුල් දා මස් වැද්දන් පිළිකුල් කළ කන්දේ කුමර රජ මනාළිය ලෙස මස් වැද්දියක වැද්දාගනී ද යන්න යි. මෙහි ඇත්ත නම් රුවන්මලී දේව පත්නිය ගේ නම වල්ලි අම්මා කැරගත්තවුන් ඒ නමට ගැළැපෙන වැදි කතාවක් ද පටබැඳි බව යි.

## කතරගම රජ පෙළ

කතරගම දෙවියන් මෙන් ම ඉපැරැණි නගරයෙකි, කතරගම. මිහිඳු හිමියන් මෙහි එන්නට පෙරාතු ව සිට ම කතරගම පෙදෙස බුදුනු දනවුවෙකි.

විජයාවතරණයට පෙර ම වූ සේ සැලැකිය හැකි සහදේව නම් රජකු ගේ ලංකාවතරණයක් ගැන බාල භාරතයෙහි සඳහන් වේ.

"සහදේවෝපි චතුරඃ
චතුරඞ්ග චමූවෘතඃ
විරෝ දක්ෂිණ දිග් දේශ
ජෛත්‍රිං යාත්‍රාම සූත්‍රයත්" (15 පර්ව)

## කතරගම දස බෑ රජ පෙළපත

මහා කාළ සේන + සුකිලා
(ක්‍රි.පෙ. 545-493) 1

අබය නාග + - -
(493 - 427) 1

තිස්ස නාග + - -
(427 - 364)

අබය නාග + - - - -
(මහා නාග)
364 - 302

යටාළ තිස්ස + සුමී
(302 - 238)

ගොළු අබා + අවුරන්ලී
(ගෝඨාභය)
(238 - 165)

චූල නාග * + - - - -




---

* යටාළ තිස්ස (බිසෝ සොහොවුරු) සුහුරු

ජයදේව කිවියා බාල භාරතයෙහි සඳහන් කරන මෙ පුවත අනුරපුර යුගයෙහි (6 සි.ව.) විසූ දළ සල කුමර කිවියා

''රණ රිස්නි මිහි බව්
සහදෙව් රද් කුරුර් හිද්
මෙත්නෙනි දපා යළ්
සෙමෙනෙ' තෙරෙ ලූ දෙනෙ වැසි
කතර්ගමෙ........

යනුයෙන් (සැරය, 10, 17) සඳහන් කරන්නේ කතරගම දිනන්නට ආ සහදෙවු රජු මෙහි දී මෙත්නෙන් දමනය වී සාමයෙන් එ තෙර ගිය බව යි. ඇතැම් විට ඔහු කතරගම දී බුදුනුවකු වූවා ද විය හැකි යි.

දෙවන පෑතිස් යුගයෙහි සිරි මහ බෝ වඩමවන උලෙළට කතරගමින් ද හඳුන්ගමින් ද බුදුනු රජුන් හවුල් වූ බව අපේ වංසකතා පවසයි. මෙ කියන කතරගම වැසි බුදුනුවන් නම් මිහිඳු හිමියන් නිසා බුදුනු බව ලදවුන් නො ව, බුදුන් කිරි වෙහෙරට වැඩි ගමනේ ම බුදුනු බව ලදවුන් බවට සැකයෙක් නැති.

''සවනා' රහතනි'හි
ලද සුව පතා පත් වරෙ
සෙය් දුන් එ රද් මහසෙන්
ඉසුද් කිහිර් වලානෙනි''

සැරයෙහි දක්වෙන ලෙසට බුදුන් කතරගමට වැඩියේ රහතන් ද සමඟ ය. එ සේ වැඩි බුදුහු කිහිරි වෙහෙර බිමෙහි දෑහැන් සුවයෙන් ද ගෙවූ හ කල්.

කතරගම රජ පෙළ උතුරේ රජ පෙළට කිසි සේත් ඇඳුම් නොලබන ඉපැරැණි පරපුරෙකි. ගැමුණු රජ පෙළ උතුරේ දෙවන පෑතිස් රජ පෙළට ඇඳීමට මහවස්කරුවන් ගසන ගැටය ද බොරු වී ළිහී යන්නෙකි.

## ගැමුණු පෙළ

මහාවංසය කියන ලෙසට මහානාගත් අසේලත් දෙ පළ ම දෙවන පෑතිස් රජුගේ සොහොවුරෝ යි. මෙයින් අසේල, එළාර නම්

විදේශික ආක්‍රමිකයකු ගෙන් මැරුම් කයි. ජයග්‍රාහක වූ මේ එළාර මැරුම් කන්නේ ඔහු අතින් මළ අසේල රජු ගේ ම පස් වැනි පරපුරේ වූ මුනුපුරා ගෙනි.

මෙ පුවත දුරට විතර කරතොත් දෙවන පැතිස් රජු මල් අසේල රජු මැරූ එළාර මැරුම් කන්නේ දෙවන පැතිස් රජු සෝවුරු (විස අඹයක් නිසා රුහුනට පලාගිය) මහානාග රජු ගේ පුත් යටාළ තිස් රජු ගේ පුත් (දස බෑ රජුන් නැසූ) ගෝඨාභය රජු ගේ පුත් කාවන්තිස් රජු ගේ (මේ රජු අවුරුදු හැට හතරක්ම රජ කළ බව සඳහන් වෙයි) පුත් දුටුගැමුණු රජු අතිනි. මේත් විය හැක්කෙක් ද? අනුරපුර එක් පරපුරකට රුහුනේ පරපුරු පහ යි.

මෙයින් පෙනෙන ඇත්තෙකි. එ නම් උතුරේ සිංහළ රජ පෙළ එකක් බව යි ; දකුණේ සිංහළ රජ පෙළ අනෙකක් ම බව යි.

දුටුගැමුණු අයත් රුහුන් රජ පෙළ අනුරපුරින් පලා ආ මහානාග ගෙන් නො ව රුහුනේ මානා කෙනකු ගෙන් වූ වෙන ම පරපුරෙකි.

දනට පාණ්ඩව පත්තුවෙන් මතු වී ඇති සෙල් ලිපියෙකින් ද මේ ගැමුණු පරපුරේ සුළමුල හෙළි වේ. (බෝවත්තගම සෙල් ලිපිය)

විජය කුමරා හෝ එයටත් පෙරාතු ව එ රටින් ම මෙහි ආ සිංහලාලයා හෝ පුත්තලම් වෙරළට ගොඩ බසිද්දී කතරගම පමණක් නො ව කැලණිය පවා පාලනය කෙළේ කතරගම රජ පෙළේ වූ ගැමුණුවරුන් බව සැලැකීම ආදි සිංහළ ඉතිහාසයට ඇත්තේ එළිය වැටෙන්නට සැලැස්වීමෙකි.

කාවන්තිස් රජු ගේ පියා වූ ගෝඨාභය රජු ගේ දස බෑ හටන (දසභාතුක සංග්‍රාමය) කතරගම රජ පෙළෙහි ම රජුන් අතර ඇති වූ සටනක් සේ සැලැකිය හැක්කෙකි. ජය ගත් ගොළු අබා රජු තමා අතින් වූ මහ පව මැකෙන්නට මහවිලි ගඟ දෙ පස දාගප් පන්සියක් කැරැවූ බව ධාතුවංසයෙහි එයි.

කෙ සේ වුව ද කතරගම රජ පෙළ උතුරු ලක රජ පෙළට අයත් වන්නෙක් නො වේ. මේ අසුර යුගයේ සිට ම අතු බෙදිබෙදී ආ දකුණේ ම රජ පෙළෙකි.

අද කතරගම දෙවියන් ලෙස සැලැකෙන මහසෙන් නිරිඳු මෙ රජ පෙළේ ආදිමයකු ලෙස සැලැකීම වටී. කතරගම කන්දේ දෙවිඳුන් දඹදිවට ඇදගැනීමට පසු කලෙක කළ තැනෙකි, ස්කන්ද පුරාණය. පරණවිතාන සූරීන් ගෙන් ද මේ මතයට පිටුබල ලැබේ.

## දස අවතාරය

විස්නුහු ගේ දස අවතාරය, 1. මත්ස්‍ය 2. කූර්ම 3. වරාහ 4. නාරසිංහ 5. වාමන 6. පරශුරාම 7. රාම 8. කෘෂ්ණ 9. බුද්ධ 10. කල්කි නමින් සඳහන් වේ. මෙය සත්ත්ව පරිණාමය සංකේතයෙකින් දැක්වීමෙකැ යි මාර්ටින් වික්‍රමසිංහ සූරිහු පවසති (සත්ව සන්තතිය පෙරවදන). වික්‍රමසිංහ සූරීන් ගේ මේ මතයට පදනම් වී ඇත්තේ තෙල්වත්තේ ශ්‍රී අමරවංශ නා හිමියන් සාහිත්‍ය තරංගනී සඟරාවට ලියූ ලිපියෙකි. එහි මෙ සේ සඳහන් වෙයි.

''විෂ්ණු යනු ශාස්ත්‍රීය ලෙසින් ප්‍රවෘත්තිය හෙවත් ස්ථිතිය යි. .... මත්ස්‍යාවතාරයෙන් ස්ථිතිය ජලමය බව ප්‍රකාශ වේ. ද්විතීය අවතාරය කූර්මයෙකි. (ඉදිබුවෙකි.)....ජලචර වූ ද ස්ථලචර වූ ද ප්‍රාණීහු මේ අවතාරයෙන් හටගත් බව්....පෙනේ. තෘතීය අවතාරය වරාහයෙකි (ඌරෙකි). මේ අවතාරයෙහි දී දන්ත ජීවීන් ගේ හා ශෘංගීන් ගේ සම්වය වී යැ යි....සලකති. නෘසිංහ අවතාරයේ දී පෘථිවිය මනුෂ්‍ය වාසයට යෝග්‍ය විය.... එහෙත් නෘසිංහ යනුවෙන් අර්ධ මනුෂ්‍ය අර්ධ පශු ස්වභාව ඇති මනුෂ්‍යයන් ගේ උත්පත්තිය ලැබේ. වාමන යනු මිට්ටෙකි. මෙයින් පශු භාවයෙන් සම්පූර්ණයෙන් වෙන් වූ මනුෂ්‍ය භාවයෙන් උසස් නොවූවන් ගේ ජන්මය ප්‍රකාශ වේ ස- වැනි පරශුරාම අවතාරය යි. පරශු නම් පොරොව යි. රාම නම් ඇලීම යි. මේ කාලයෙහි මනුෂ්‍ය වර්ගයා බලෙන් වික්‍රමයෙන් ඇලී සිටි බව පෙනේ....රාමාවතාරය වනාහි නීතියෙන් ජනරංජනය ප්‍රකට කෙරේ....කෘෂ්ණ අවතාරයෙහි පරලෝක බුද්ධිය බලවත් විය. .....බුද්ධ අවතාරය වනාහි තත්ත්වඥානයෙන් සම්පූර්ණත්වය ප්‍රකාශ කෙරේ. කල්කි අවතාරය මතු ලැබේ.''

විස්නුහු ගේ දස අවතාරය පිළිබඳ ව අප දන්නා පරිදි මහ වෙනසක් දක්වයි.

විස්නු ආදියේ දඹදිව පාලනය කළ අසුර රජෙකි. පසු ව සුර බවට නැඟිණි. විස්නු පෙළේ බොහෝ සුර රජවරු පසු කල්හි දඹදිව විසූ හ.

හිරු ගේ මවන රකින වනසන තුන් බලය නම් කළ පැරණියෝ මවන හෙවත් අඹන බලය බඹ (බ්‍රහ්ම) නමින් ද රකින බලය විස්නු (විෂ්ණු) නමින් ද වනසන බලය ඊස්වර් (ඊශ්වර) නමින් ද ගත් හ.

පසු කලෙක මේ දෙ වැදෑරුම් විස්නුන් ම එකකු කොටගෙන දඹදිව ජනයා පතපොත ලියූ බව පෙනේ.

විස්නු ගේ නරසිංහ අවතාරයෙන් මෙ කවෙහි දක්වෙනුයේ හෙළදිව රජ කළ හිරුනිය කසුබු (හිරණ්‍ය කශිපු) රජුට වන් විස්නු උවදුරෙකි. මෙහි සඳහන් වන විස්නු, සුර අසුර සංග්‍රාමයෙහි සඳහන් වන මහා විෂ්ණු නරපතියා නො ව එ නම ගත් අන් රජකු විය හැකි ය.

රාම අවතාරයෙන් ද විස්නු දෙවියා රාවන සංහාරය කළ බව දේව කතාව පවසයි. එහෙත් එහි ද ඇත්තේ පවත නම් උතුරු දඹදිවින් මෙහි ආ රාම කුමරා හා මෙහි රජ කළ රාවන මහ රජු හා අතර හටගත් දබරයක් දේශපාලන වාසියකට හරවාගැනීමට රාවන පවුලේ ම විබීසන කුමරා සමත් වීමේ කතා පුවත යි.

දඹදිව දේව කතා ඇසුරින් ලියැවුණු ජානකීහරණය, රාමායණය, රඝුවංශය, ශිශුපාලවධය, ගීතගෝවින්දය, කුමාරසම්භවය, ස්කන්ද පුරාණය, වෛෂ්ණව පුරාණය ආදි සකු කව් ගත් ඇසුරින් ද අපේ ඈත යටගියාවට සෑහෙන එළියක් ලබාගත හැකි ය.

පැරණි කල සිට පැවැති දිගු ඉතිහාසයක් ලොප් කොට මහාවංසය ලියැවුණු බවට ඉඟියෙක් එහි පළමු වැනි පිරිසිඳියෙහි දෙ වැනි ගාථාවෙන් ම ලැබේ.

"පෝරාණේහි කතෝපෙසං
අතිවිත්ථාරිතෝ ක්වචි"

යන්නෙන් ම අපේ අසුර, රකුස්, යක්, නාග සිව්හෙළ යුගයන් ම විජයාගමනයෙන් වසර දස දොළොස් දහසකට ද එහාට

නිසැකයෙන් ම දිව යන බව පෙනේ. අපේ මේ ඉපැරැණි හෙළ යටගියාව වසර දෙ දහස් ගණනකට ලොප් වූ සැටියෙකි. බුදුන් වහන්සේ ගේ පිරිනිවනත් ජාතියේ ඇරැඹුමත් එක දා නුවූවත් එ සේ ඇත් නම් මැනැවැ යි බුදුනු පැවිද්දකු හට සිතීම ඇතැම් විට සහේතුක විය හැකි ය. එහෙත් නියම සිංහළ ඉතිහාසයට ඉන් වැදුණේ මරු පහරෙකි. මේ පහරේ පිළිවිපා අද ද විඳිමු.

## බසින් පිළිබිඹු වන යටගියාව

ජාතියක් සතු උරුම අතරින් වැදැගත් ම තැන ගන්නේ බස යි. ජාතියක් හඳුන්වාදීමේ දී ද බස ම මුල් වෙයි. බසෙහි නැඟීම ජාතියෙහි නැඟීමට කරුණු වෙයි. එහි පිරිහීම ජාතියෙහි වැටීමට කරුණු වෙයි. එ හෙයින් බසෙහි පැවැත්ම ජාතියේ පැවැත්ම ද බසෙහි නැවැත්ම ජාතියේ නැවැත්ම ද වන්නේ ය. බසින් ගිලිහුණු ජන රැස ලොවින් අතුරුදන් වී ගියත් රැසින් ගිලිහුණු බස මළ බසක් වෙමින් වුව ද පවතිනු විය හැකි ය. එ සේ වන්නේ එ බසින් ලියැවුණු වැදගත් පතපොත සුරැකී ඇතොත් පමණෙකි.

ඇති වී වැඩී නැති වී යෑම ලෝ දහම යි. මේ දහම බසට ද පොදු යි. එ හෙයින් ලොවේ මළ බස් මෙන් ම දිවමන් බස් ද, දිවමන් බස් අතරේ වයසින් වැඩි අඩු බස් ද ඇති විය හැකි යි. එ සේ වුව ද, මේ බස වයසින් වැඩි යැ යි ද මේ බස වයසින් අඩු යැ යි ද හරි හැටි මිනීම ඉතා අපහසු කරුණෙකි.

බසෙකින් බසකට වදන් ගැනීමේ දී පැරැණි බසෙකින් නොපැරැණි බසකට වදන් එති යි ඇතැම්හු සිතති. එහෙත් වදන් දීම කිසි යම් බසක් වයසින් වැඩි කොටැ සැලැකීමට හෝ වයසින් අඩු කොටැ සැලැකීමට හෝ හේතු සේ නො පෙනේ. සිංහළයට ලොරිය යන වදන ආයේ ඉංගිරිසි බස ඔස්සේ බව අපි දනිමු. එහෙත් ඒ ලොරිය යන වදන දීම නිසා ඉංගිරිසිය සිංහළයට වඩා වැඩි මහලු වන්නේ වත් සිංහළය ඒ ලොරිය ගැනීම නිසා ඉංගිරිසිය සිංහළයට වඩා වැඩි මහලු වන්නේ වත් නො වේ. එ සේ නම් සකුවෙන් පාළියෙන් සිංහළයට වදන් ආ හ යි කී පමණින් ද සකුවත් පාලියත් දෙක සිංහළයෙහි වැඩිහිටියන් කොටැ සැලැකීම සුදුසු වන්නේ නො වෙයි. තව සමහරු එක් බසෙක වදනක් තව බසෙක සම වැ දුටු පමණින් - තත්සම වදනක් දුටු පමණින්, ඒ දෙ බසේ වදන් ගනුදෙනුවක් සිදු වී ඇතැ යි සිතති; ඒ බසින් මේ

බසට හෝ මේ බසින් ඒ බසට හෝ බිඳ ගත් හ යි ද සිතති.

එ සේ නම් ඉංගිරිසියෙහි මඩ් (mud) යන්නට සිංහළයෙහි මඩ යන්නත් වෝටර් (water) යන්නට වතුර යන්නත් හඬ සම වදන් ය. ඒ වූ පමණින් මැ ඉංගිරිසිය සිංහළයෙන් හෝ සිංහළය ඉංගිරිසියෙන් හෝ ඒ වදන් ගත් හ යි එක එල්ලේ ම කිය හැකි ද? මේ නියරින් මැ සකුයෙහිත් පාලියෙහිත් වන ඇතැම් වදන් සිංහළයෙහිත් හඬ සම වැ ලැබෙනු ඇති. එ හෙයින් ම ඒවා බිඳගත් හ යි ඉඳුරා කිව හැකි ද?

සිංහළ වදන් සකුවෙන් පාළියෙන් බිඳගත් හ යි යන හැඟීම හිතේ තියාගෙන සකුවත් පාලියත් දෙක සිංහළයෙහි දෙ මවුපියන් සේ සලකා පතපොත ලියූ පඬිවරු මෙ රටේ වූ හ. සිංහළයට නිරුත් වදන් කොසුවක් සැපැයීමේ කාරියට උපදෙස් ගන්නට ඒරොප්පෙන් (ජර්මනියෙන්) මහා විසාරදයාණ කෙනකුන් ගෙන්වාගැනුණේ ඉහතින් දක්වුණ හැඟීම නිසා ය. මෙ සේ ගෙන්වා - ගැනුණු විසාරදයාණෝ නම් 'මහා මහෝපාද්ධ්‍යාය' විල්හෙල්ම ගයිගර සූරීහු ය.

මෙ තුමාණෝ පෙර දිග බස් කිහිපයෙක පතළ දැනුමැත්තෝ වූ හ. එහෙත් පෙර නිගමනයක් සැටියෙන් මේ මහා පඬුවාණන් ගේ හිතේ කාවැදී තුබූ අදහසෙක් විය. එ නම් 'සංස්කෘතය' ඉන්දු ආරිය බස්හි මවු බස බව යි. මේ මතයට මැ වහල් වීම ඔවුන් ගේ යහපතට නම් සිටියේ නො වෙයි.

බලන්න, මොවුන් ගේ මතයෙන් සිංහළ කොටියා එන්නේ සංස්කෘත 'කෝෂ්ටෘ' යන්නෙනි. සිංහළ බල්ලා එන්නේ සංස්කෘත 'භල්ලාක' යන්නෙන් හෝ පාළි 'භල්ලුක' යන්නෙනි.

තමන් තරයේ එල්බගත් මතයට මැ, බැසගත් පෙර නිගමනයට මැ ගයිගර සූරීන් කො තරම් ගැති වී සිටියා ද යි කිව හොත් යටත් පිරිසෙයින් මෝනියර් විලියම්ස් ගේ සකු වදන් කොසුව වත් පෙරළා බලන්නට නොසිතු සේ යැ. ඉදින් මොවුන් එ සේ කළා නම් එ මහ සකු වදන් කොසුව, කෝෂ්ටෘ යන්නටත් භල්ලාක යන්නටත් දී ඇති අරුත් දකිනු ඇති.

සකු 'කෝෂ්ටෘ යන්නෙහි තේරුම සිවලා යි ; කොටියා නො වේ.
සකු භල්ලාක යන්නෙහි තේරුම වලසා යි; බල්ලා නො වේ.

සිංහළ කොටියා සංස්කෘත සිවලා ගෙන් බිඳගැනීමෙන් සිංහළ බල්ලා සංස්කෘත වලහා ගෙන් බිඳගැනීමෙන් මහ (ගයිගර) විහිළුව ගැන කුමරතුඟුවන් සුබස සඟරාවේ දක්වා ඇති කරුණු මේ බිඳිලි නියාව මුළුමනින් ම බිඳහෙළීමෙක් ද සියබසේ වදන් තැනුණු නියාව මතු කිරීමෙක් ද වෙයි.

සිංහළයෙහි වදන් තැනෙන නියාවෙන් අතුරින් මෙය ද එකෙකි. එ නම් කිරිය මුලකට (ධාතුවකට,) 'උ' පස එක් කිරීමෙන් කිරිය නමුවක් (=කෘදන්ත නාමයක්) තනාගැනීම යි.

ඒ අනුව

කරනුයේ - කර + උ > කරු
මරනුයේ - මර + උ > මරු

එ මෙන් ම

බලනුයේ - බල + උ > බලු යි.

ඈත යුගයෙක සිට ම තමන් ගේ දේපල ආදිය බලාගැනීමට යොදාගැනුණු සතා හෙයින් බල්ලා යනු එක් අතෙකින් අනුරූත් නමෙක් ද වෙයි. ඉංගිරිසියෙහි එන වොච් ඩෝග් (watch Dog) යන්න සැලැකීම වටී.

සිංහළයෙහි වදන් හැදෙන තව නියරෙකි. එ නම්, නමු පියෙවියකට (නාම ප්‍රකෘතියකට) ඉ පස එක් කිරීමෙන් නම්නමුවක් (තද්ධිත නාමයක්) තනාගැනීම යි.

නිදෘ:

දත් ඇතියේ දත් + ඉ > දැති
(දැති රෝදය , දැත්ත ආදිය)

එ මෙන් ම

කොටු ඇතියේ කොටු + ඉ > කොටි

(ඇඟෙහි කොටු හෙවත් පුල්ලි ඇති හෙයින් කොට්යා මෙන් ම පුල්ලියා යන නම ද අනුරුත් නම් ය.)

මෙ සේ සිංහළ කොටි, බලු යන වදන් සකුවෙන් පාලියෙන් බිඳගැනුණු සේ නො ගෙන සිංහළ වදන් සේ ගෙන එ වදන් තැනුණු අයුරු සිංහළයෙන් ම දිය හැකි බව දූන් පැහැදිලි ය. මේ කොටි, යන තද්ධිත නාමයත් බලු යන කෘදන්ත නාමයත් සෑදුණු පිළිවෙළ ම බසේ සෙසු තද්ධිත නාම තැනීමේ දීත් සම ව ලැබේ නම් එහි වන්නේ බසට පොදු වූ වදන් නියරෙකි.

බිදිලි නියාව අනුව නම් මෙ වන් නියරක් පාදාගැනීම උගහට ය.

සිදත් සඟරාකරුවෝ උපත සලකා වදන් තුන් ගොඩකට බෙදති මෙ සේ.




මෙහි නිපන් නමින් දැක්වුණේ එ බසට මැ අයත් එ බසින් මැ නිපන් වදන් වෙයි. තත්සම නමින් දැක්වුණේ අන් බස් වදන් හා සම වදන් ය. අන් බසින් බිඳගැනුණේ තද්භව නම් වෙයි.

තද්භව වදනක් ලෙස සංස්කෘත ක්‍රොෂ්ටෘ යන්නෙන් බිඳගත්තා යැ යි කියන සිංහළ කොටි යන්නත් සංස්කෘත භල්ලාක යන්නෙන් හෝ පාළි භල්ලුක යන්නේ හෝ බිඳගත්තා යැ යි කියන සිංහළ බලු යන්නත් අපේ බසේ වදන් නියාව අනුව ම නිපන් හෙයින් ඒ අපේ ම වදනෙකි; සිදත් සඟරාව පවසන ලෙසට නිපන් වදනෙකි.

## ජම්බුද්වීප > දඹදිව

ජම්බුද්වීප යන සකු වදනින් හෝ ජම්බුදීප යන පාළි වදනින් හෝ දඹදිව යන සිංහළ වදන බිඳී ආ හ යි සිතූ ඇතැම් වියතුන් ජම්බුද්වීප නම තහවුරු කිරීමට දක්වන කරුණ ද සිනා සපයන්නෙකි. එ නම් අතිවිශාල ජම්බු ගහක් නිසා ඒ මහ රට ජම්බුද්වීප වූ බව යි. මෝනියර් විලියම්ස් ගේ සකු මහ වදන් කොසුවේ ද මේ පුවත සඳහන් වේ. අපේ බණ පොත පවසන ලෙසට නම් හිමාලය කන්දේ ඇති මේ මහා ජම්බු ගස උසින් යොදුන් ගණනෙකි. එහි සතර අතට ගිය අතු සතර දිගින් යොදුන් ගණන් වෙයි. මෙහි ජම්බු මාදිය කළගෙඩි තරම් යැ කීමෙන් ඒ ජම්බුවලට මඳි පුංචිකමෙක් වී දැයි නො දනුමු. ඒ ජම්බු හතර රියන් ගෙවල් තරම් වත් ඇතැ යි කීවා නම් ගසේ පමණට වත් මඳක් ගැළැපෙයි. කෙ සේ වුව ද ජම්බුද්වීපය ගැන දෙසා ඇති බේගලේ තරමට හිමාලය ගල පවා නොපැළුණා පුදුමයෙකි.

ජම්බුද්වීපයෙන් දඹදිව ආයේ ද නැති නම් දඹදිවින් ජම්බුද්වීපය ගියේ ද යන්න ගැන දත් මඳක් විමසා බලමු.

දඹ යන්න සිංහළයේ එක් වදනෙකි. දිව යන්න අනෙකෙකි. දඹ නම් ගල් කඳු යි. මහ ගිරිදඹය, දඹදෙණිය, දඹුල්ල ඈ තන්හි ඒ වෙයි.

දිව නම් දියෙන් පෙනෙන - දියෙන් වට වූ බිම් කඩ යි.
දිසි + අප් > දිසිප් > දිහිප් > දීප් > දිප් >දිව්.'

මෙහි දිසි නම් පෙනෙන්නා යන්න යි. අප් නම් වතුර යි.
දිය උහුලන්නා යන තේරුම ඇති
වා + අප් > වාප් > වාව් > වව් >වැව් යනු ද
දියෙහි ඇදෙන්නා යන තේරුම ඇති
නා + අප් > නාප් > නාව් > නව් >නැව් යනු ද

මේ දිව් යන අයුරින් ම නිපන් සිංහළ වදන් ය. ඇත්තට මැ දඹදිව (ඉන්දියාව) දියෙන් වට වූ දිවයිනෙක් නො වේ. මහ රටක් නිසා එ රටේ වසන්නනට ද එය දිවයිනක් ලෙස නො හැඟේ. එ රට දිවයිනක් ලෙස පෙනෙන්නේ හෙළදිවේ සිට මූදින් එ රට බලා යන්නන් හට යි. කුමාරි තුඩුවෙන් දකුණේත් මුහුද යි. නැඟෙනහිරටත් මුහුද යි. බටහිරටත් මුහුද යි. මේ මුහුද නැඟෙනහිර බටහිර දෙ පස සිට ද උතුරු අතට විහිදෙන බව හේ දකී. එ හෙයින් දඹදිවක් තම රට සේ ම දිවයිනෙකැ යි

දකින්නේ හෙළදිවින් යන වැසියා යි. එ පමණෙක් ද? ඔහුට ඈත මූදේ දී ම දකුණු දඹදිවේ සිට උතුරු අතට විහිදෙන නැඟෙනහිරි 'සාට්ස්' බටහිරි 'සාට්ස්' කඳු වැටි ද පෙනෙයි. මේ නිසා ඉන්දියාවට දඹදිව් නම දුන්නෝ සිංහලයෝ ය. දඹදිව යන සිංහල නම සකුවට ජම්බුද්වීප ද, පාලියට ජම්බුදීප ද වීමෙන් පසු ගෙතුණු ප්‍රබන්ධයෙකි අර ජම්බු ගහේ කතාව.

## මිත්‍ර > මිතුරු

අපි වේද සකුවෙහි එන දෙවියන් අතරේ ගැනෙන 'මිත්‍ර' යන 'ශබ්දය' ගනිමු. එහි අරුත හිරු බව ශබ්දකෝෂකාරයෝ දක්වති. එහෙත් මිත්‍ර යන්නෙන් බිඳී ආ ලෙස ඇතැමුන් සලකන්නා වූ ද, හිරුට නමක් වූ ද සිංහල 'මිතුරු' සද අනුරුත් නමෙකි. මහ තරුව යනු එහි අදහස යි.

මහ බව ඇතියේ මහ + ඉ > මිහි යි.
මිහි + තුරු > මිතුරු > මිතුරු යි.

මෙහි තාරකා යන්නෙන් බුත් හ යි ඇතැමුන් සිතන තුරු යන්න ද සිංහල කෘදන්ත නාමයෙකි.

සිංහලයෙහි මිතුරාට යෙදෙන මිතුරු සදෙක් ද වෙයි. මෙයත් සකු 'මිත්‍ර' යන්නෙන් පැමිණි සේ සැලැකෙයි. එහෙත් යහළුවා සඳහා යෙදෙන සකු 'මිත්‍ර' ශබ්දය ද, වර නැඟෙනුයේ නිපුස් ලිඟු පදයක් ලෙස යි. එහෙත් සිංහල මිතුරා පණැතියෙකි. මෙ ද අපේ මැ නිරුතින් ගත් වදනෙකි.

මෙත් කරනුයේ (මෙතුරනුයේ) මෙත් > තුරු > මෙතුරු > මිතුරු යි. මේ සිංහලයෙහි කෘදන්ත නාමයෙකි.

සැබැවින්ම මැ මිත් ගුණය ද මේ මැ යි. මිත් මෙත් වීම ද සිංහලයේ වදන් නියාවට එකඟ යි.

සකුයෙහි මිතුරු (යහළු) අරුතෙහි මිත්‍ර යන්න, එ බසේ කෙ සේ වුව ද මෙ බසේ නම් අපේ මැ වදන් නියරින් නිපන් කිරිය-දුනු (කෘදන්ත) නාමයෙකි.

## මහියංගණ > මියුඟුණු

මහියංගණ යන පාළි වදනින් සිංහළ මියුඟුණ බිඳගත් හ යි සිතන්නෝත් වෙති. මෙහි ඇත්තට මැ සිදු වී ඇත්තේ බින්තැන්න (බිම්තැන්න) යන සිංහළ වදන පාළියට හැරැවීමෙන් මහී + අංගණ > මහියංගණ වීම යි.

"මහියංගණං නාගදීපං
කල්‍යාණං පද ලඤ්ඡනං
දිවාගුහං දීඝවාපිං
චේතියං ච මුතිංගණං"

ඈ විසින් බුදුන් වැඩ සිටි සොළොස් තැන් සඳහන් වන පාළි ගාතාවේ එන මහියංගණ යන්න මෙන් මැ මුතිංගණ යනු ද සෙසු තැන් මෙන් මැ පාළියට හරවාගැනුණු සිංහළ තැන් නම් මිස පාළියෙන් ම වැහැරැවුණු තැන් නම් නො වේ. මේ නම් පාළියට ගැනීමේ දී ද එක ම නියරෙක නොපිහිටි බව මහියංගණ, මුතියංගණ යන දෙ නම යෙදූ සැටියෙන් පෙනේ. මුතිංගණ යැ යි යෙදූ පාළි ඇදුරාට වඩා මුතියංගණ යැ යි යොදන සිංහළ ගැමියා ඒ වදන හඳුනාගෙන ඇත්තේ යි. වත්තේ ගෙයක් හැදූ විට ගෙවත්තේ ඉදිරි පස කොටස වැදගත් සේ සලකා එය මිදුල නමින් හැඳින් වූ සිංහළ ගැමියා නිබඳ අතුගා පිරිසුදු කරන එ ම කොටසට තේරුමක් ඇති ව ම ඒ නම දිනි. වත්තේ අග කොටස (අග්‍රභාගය) අගින් වූ කොටස යැ යන අරුත දීම සඳහා අග + උණු > අගුණු යැ යි ගති.

මෙහි 'උණු' යනු ගැමුණු (ගම් + උණු) බමුණු (බම + උණු) ඈ තන්හි යෙදුණු ඇති අරුත්හි තද්ධිත ප්‍රත්‍යයය යි. මෙහි මිහි නම් පොළොව හෙවත් බිම යි. ඒ මිය යනුවෙන් ද සිටී.

මිය + අඟුණු > මියගුණු > මියුගුණු
යනු බිම් තැන්නට 'පර්යාය' නාමයෙකි.

මහියංගණ යැ යි පාළි වූයේ අරුතින් වඩා මැ ගැළැපෙන සිංහළ රටේ බිම්තැන්න හෝ මියුඟුණු හෝ වියැ හැකි යි. මහියංගණ යන්නෙන් බිඳැගත් හ යි සැලැකෙන මියුඟුණු යන්න ද අපේ මැ වදන් නියරින් නිපන් වදනෙකි.

මුතියංගණ යන්න ද මුතු බඳු (මුතු + ඉ > මුති) මිදුල හෙවත් තැන්න යන අරුත් ඇති මුතියඟණ යන්නෙහි අවිදිමත් පෙරළියෙකි.

මේ අනුව සලකන විට පෙනෙන තව ද ඇත්තෙකි. එනම් සකුවෙන් පාළියෙන් සිංහළ වදන් ආ හ යි යන්න අනෙක් අතට සිදු විය හැකි බව යි. කෙ සේ වුව ද සකුයෙන් සිංහළ වදන් බිඳගැනීමෙහි ද නීතියක් සැටියෙන් දක්විය හැකි විදුහුරු පිළිවෙළෙක් ද නො පෙනේ.

මේ බලන්න.

| සකු | | සිංහළ |
|---|---|---|
| අන්ධකාර | යන්නෙන් | අඳුරු |
| කුම්භකාර | යන්නෙන් | කුඹල් |
| ලෝහකාර | යන්නෙන් | ලෝකුරු |
| චිත්‍රකාර | යන්නෙන් | සිත්තර |

අන්ධකාර යන්නෙන් සිංහළට බිඳෙන්නේ අඳුරු නම් කුම්භකාර යන්නෙන් බිඳිය යුත්තේ කුඹුරු යන්න වැන්නක් මිස කුඹල් නො විය හැකි ය.

පහත පෙනෙනුයේ සකු වදනුත් ඉන් බිඳී ආ සේ සැලැකෙන හෙළ වදනුත් ය.

| සකු | සිංහළ |
|---|---|
| අන්ධකාර | අඳුරු |
| වජ්‍ර | විදුරු |
| සුන්දර | සොඳුරු |
| භද්‍ර | බදුරු |
| උපද්‍රව | උවදුරු |

මෙහි එක් බඳු බවක් දක්වනුයේ බිඳී ආ සේ සැලකෙන සිංහළ වදන් පමණෙකි. ඉන් පැහැදිලි වන්නේ සිංහළ වදන් එ බසට ම අයත් පොදු නියරෙකින් තැනුණා මිස බිඳී ආ වදන් නොවන බව යි.

නියර මේ වෙයි

අඳ කරනුයේ (ඇස් නොපෙනෙන තතුවට පත් කරනුයේ)

අඳ + කුරු > අඳුරු

විද කරනුයේ (විදගෙන යෑම කරනුයේ)

විද + කුරු > විදුරු

සොඳ (මනා බව) කරනුයේ

සොඳ + කුරු > සොඳුරු

බද (යහපත) කරනුයේ

බද + කුරු > බදුරු

උ + වද (වැඩි වද) කරනුයේ - උවද + කුරු උවදුරු

තව ද, වප් (වැපිරීම) කරනුයේ

වප් + කුරු > වපුරු

කම් (කර්මාන්තය) කරනුයේ

කම් + කුරු > කමුරු > කමුරු

ආදිය ද සලකන්නේ මැනැවි.

කරනුයේ කරු කුරු උරු වීමත් ඉක්බිති පෙර පදය හා සන්ධි වීමත් ඉහතින් දක්වුණු කෘදන්ත නාමයන් ගේ වෙසෙසියාවෙකි. කුම්භකාර යන්නෙන් බිඳගැනුණු සේ සැලැකෙන කුඹල් යන්න ද අන් සැටියෙකින් තැනුණු සිංහළ කෘදන්ත නාමයෙකි.

කුඹු (කළගෙඩි) ලනුයේ (තනනුයේ)

කුඹු + ලු >කුඹුල් >කුඹල්

වේ (වේග ලනුයේ (දනවනුයේ))

වේ + ලු > වේලු > වේල්

යනු ද මේ ගණයේ වදනෙකි.

එක් වදනක් තැනුණු සැටි මැ ඒ ගණයේ සෙසු වදන්හි ද සම වැ ලැබේ නම් එ තන්හි නීතියෙක් වෙයි. විද්‍යුයෙහි $H_20$ (ද 2 ම) නීතිය අනුව දිය ලැබගත හැක්කා සේ මැ, එය පෙරළා මුල් තතුවට ද පත් කළ හැකි යි. එ ලෙසින් ම බසෙහි ද සම ව පෙනෙන වදනින් මතු වන නියර

අනුව තව වදන් තනා ගත හැක්කා සේ මැ, එය පෙරළා මුල් තතුවට ද පත් කළ හැකි යි. ඒ ගණයෙහි වැටී තැනුණු වදන් විබෙදීමෙන් එ ම නියර ද පෙරළා පාදාගත හැක්කේ ය. එක මැ මුහුණුවරේ දෙ වදනක් එක සේ නොබිඳෙන 'නූතන වාග්විද්‍යාව' විද්‍යාවෙකැ යි නො කිව හැක්කේ මේ නිසා ය.

බසෙහි වදන් නියර උගැන්මෙන්

(i) වදන් පරපුර ම ඇදී එයි
(ii) වදන්හි අයිතිය තහවුරු වෙයි
(iii) රසේ යටගියාව ද මතු වෙයි

(i) වදන් පරපුර ම ඇදී එන්නේ කෙසේ ද? වදනක් තැනුණු නියර දක්වීමෙන් එ ම නියරින් තැනුණු සෙසු වදන් ද නිදසුන් විසින් ඇදී එන නිසා යි. ඉහතින් දක්වුණු කොටි, (කොටු + ඉ) තද්ධිත නාමය හා මැ ඇදී එන දති (දත් + ඉ) පැණි (පණ + ඉ) ඈ වදන් පරපුර මෙනි. එ සේ ම බලු (බල + උ) කෘදන්ත නාමය හා ඇදී එන කුරු (කර + උ) , මරු (මර + උ), වඩු (වඩ + උ) ඈ විසින් ඇදෙන වදන් පරපුර මෙනි.

(ii) වදන්හි අයිතිය තහවුරු වන්නේ කෙ සේ ද?
"යම් කිසි වදනෙක් යම් කිසි බසෙක වදන් තැනෙන නීතියක් අනුව තැනේ නම් ඒ වදන ඒ බසට ම අයත් වේ" යනු වදනේ උරුමය තහවුරු කරන නීතිය යි. කොටි, බලු යන වදන් සකු මුලෙකින් බිඳගත් වදන් නො ව සිංහලයෙහි ම නිපන් අයුරු පැහැදිලි හෙයින් එ වදන්හි සිංහල අයිතිය තහවුරු ය.

## කබර:

කබර යන්න පාළියෙහි ද සිංහලයෙහි ද සම ව ලැබෙන වදනෙකි. එහෙත් මේ සිංහලයෙහි තනි වදනෙක් නො වේ; විබෙදා දක්විය හැකි වදනෙකි.

කා නම් කය යි. බර නම් පුල්ලි යි. කා + බර > කබර, (හ්‍රස්ව සන්ධියෙනි) කා යනු සම් පොතු යන අරුත්හි ද යෙදේ.

එ සේ ගත් කල්හි ද සම්පොතුයෙහි එන පුල්ලි අරුතින් කා + බර > කබර යනු යෙදේ.

## කුලම්:

මේ දෙමලයෙහි ද සිංහළයෙහි ද තත්සම වදනක් ලෙස යෙදෙයි. වැවට පර්යාය නාමයක් වූ කුලම යනු විසම, වසම, පල්ලම ආදි වදන් සේ ම ස්වාර්ථ තද්ධිතයෙකි.

විස යන්න ම විස + ම විසම වෙයි.
වස (වාසස්ථානය) යන්න ම වස + ම වසම වෙයි.
පල්ල (පත්ල) යන්න ම පල්ල + ම පල්ලම වෙයි.

එ මෙන් ම

කුලු යන්න ම කුලු + ම කුලම වෙයි.
මෙහි කුලු නම් වැව යි.

කා නම් බිමයි; පොළොව යි. උ + ලු (උලු) නම් උඩට ලීම යි හෙවත් එසැවීම යි. එ හෙයින් කුලු නම් ඉවුරු (ඉ+උරු) වැටිය යි. ඉවුරු වැටියෙකින් හෙවත් කුලෙකින් දිය රඳවනුයේ කුලු හෙවත් කුලම යි.

## නෙලුම්බියම්:

(Nelumabiom) වදන් කොසු කරුවන් මෙය හඳුන්වනුයේ ග්රීක වදනක් ලෙස යි. සිංහළ අප මෙය හඳුන්වන නෙලුම් යන්න මේ ග්‍රීක නෙලුම්බියම් හා තත්සම වෙයි. නෙලුම් යන්නෙහි නිරුත කෙරේ දැන් අපි සිත යොමු කරමු.

නලයෙහි බූව (බු) ඇත්තේ නල + බු > නලුබු > නෙලුබු > නෙලුඹු (නෙලුම්බු) වෙයි.

මෙහි නලය නෙලුම් දඬුව යි. හෙවත් මලේ නටුව යි. බූ නම් කොරොස් ය; කුඩා කටු ය. දළ + බූව ඇත්තේ දළබු + දළඹු යනු ද සසඳන්න.

දැන් අපි සිංහළ හා තසම ව යෙදෙන ලතින් පියෙවියක් වූ 'මාරේ' (Mare) යන්න ගනිමු. ඉංගිරිසියෙහි මැරීන් (Marine) මැරිටයිම්

(Maritime) සබ්මැරීන් (Sub-marine) ඈ වදන් තැනීමෙහි ද මුල් වූ මුහුද ය යන අරුත් ඇති මේ වදන එ දා මූදේ රජ කළ පැරැණි රෝමයන් දෙඩූ ලතින බස සතු යි.

එහෙත් සිංහළයෙහි මෙය වදන් රැසකට මුල්වූ පියෙව්යෙකි.

මාරේ (මූදේ) + දිව් > මාළේ දිව්
මාරේ (මූදේ) + හිව්යාව (ඉස්සීම) > මාරියාව
මාරේ (මූදේ) + ඉස්සි + කඩ > මරිස්සිකඩ (මරිච්චිකඩ)
මාරේ + විල > මාරවිල
මාරේ අක් (අග) කෙළට (කොනට) යන යාත්‍රාව - මරක්කළය.
මාරේ අක් කෙළට යන්නා (නැවියා) - මරක්කළාහේ
මාරේ අක් කෙළින් ආ විදේසිකයා - මරක්කළයා
මාරේ ඉම දක්වන යතුර - මාරිමා (මාළිමා)
(මාරේ + ඉම ආ > මාරිමා > මාළිමා)
මාරේ නායකයා -මාරේ + ඊස > මාරීස
මාරේ (මුහුදු) මෙහෙයෙහි යෙදුණු කාන්තාව
මාරේ + මේ + කලා > මරිමේලා > මණිමේකලා

මාර යන සිංහළ පියෙව්ය පද දෙකෙක එක් වීමෙකි.

එ නම්

මහ + ආර යන දෙ වදන යි.
ආර නම් දිය කඳ යි. මහ + ආර නම් මහ දිය කඳ හෙවත් මූද යි.

මහ + ආර > මහාර > මාර වෙයි.
වදනෙහි විබෙදීම අනුව මාර යන්න සිංහළ බසට අයත් වදනෙකි.

## ගෙකෝ (Geko)

හූනාට නමක් වන ගෙකෝ යන්න මැලේ (ජා) බසින් ඉංගිරිසියට ගිය වදනක් ලෙස දක්වෙයි. එ සේ ම උගේ මුවින් නැගෙන ''ගෙ කොක්'' යන හඬ නිසා නැඟුණ අනුකරණ නමක් ලෙස ද දක්වෙයි. එහෙත් කිව් කිව් මිස ''ගෙකොක්'' යන හඬක් සිංහළ හූනා නම් නො නඟයි. ගෝ (ගොයි) පවුලට ම අයත් ගෙයි වසන එක මැ ගොයා නම් හූනා යි. එ හෙයින් ස-වන පැරැකුම්බා මහරජ ද උණට තිසි ම නම හැටියට 'ගෙගෝ' නම රුවන්මලෙහි සඳහන් කරයි. 'ගෙගෝ' වදන

සිංහළ බසට අයත් 'ගෙ + ගෝ යන දෙ වදන ඇඳී තැනුණක් බව පැහැදිලි යැ.

## මයිකා (Mica)

මයිකා යනු මැදගස්කර බසින් ඉංගිරිසියට ආ වදනක් ලෙස බ්‍රිටැනිකා මහ වදන් කොසුව සඳහන් කෙරෙයි. මහිකා නමින් ගැනෙන මේ කණිජය අප හඳුන්වන්නේ තල අතු මිතිරන් නමිනි. තහඩු (පොතු) විසින් ලැබෙන හෙයින් තල අතු (තලාතු) යන්න මේ මිහිරන් හැඳින්වීම සඳහා අනුරුත් නමෙකි.

මැදගස්කර බස අප නො දනිතත්, මයිකා යනු අප බසේ තත්සම වදනක් නො වතත් අප බසින් - සිංහළයෙන්, මේ මයිකා යන්නට අරුතින් ඉතා ම ගැළපෙන පරිදි නිරුතක් දක්විය හැකි ය. එ සේ කිරීමේ දී එ වදන විබෙදා දක්වීමට හැකි වීම ද කළ හැකි, මෙ සේ:

මහි + කා > මහිකා > මයිකා

මහි නම් පොළොව යි. කා නම් පොතු යි. එ හෙයින් පොළෝ පොතු යන අරුතින් ඒ මහි + කා > මයිකා වෙයි.

## සන් (Son)

ඉංගිරිසියෙහි පුතා හැඳින්වීමෙහි යෙදෙන 'සන්' (Son) යන මේ වදනේ පරපුර චාර්ල්ස් අනන්ඩේල මෙ සේ දක්වයි, සිය වදන් කොසුයෙහි.

| | | |
|---|---|---|
| ඉංගිරිසි | - | සන් |
| සැක්සන | - | සොන් |
| ස්විඩන | - | සන් |
| ඩේන්ස | - | සොන් |
| ගොත් | - | සූනුස් |
| ජර්මන් | - | සෝන් |
| සංස්කෘත | - | සූනු |

ඉංගිරිසි සන් යන්නට තත්සම වදනක් සිංහළයෙහි ද වෙයි. එ නම් රුවන්මලෙහි එන සුනු යන්නෙහි මුල් රුව යි.

සත් + උ > සනු > සුනු
යනුවෙනි.

සත් යන්නෙහි ම පෙරළියක් වන 'සොන්' යන්න ද සිංහළ වහරේ ලැබේ. පියා කවරෙක් දැ යි හරි හැටි නො කිය හැකි ව ලැබෙන (හොරට ලැබෙන) පුතුන් හොරසොන්, ඔරසොන් යන නමින් දකුණු පළාතේ වැඩිහිටියෝ හඳුන්වති.

කෙසේ වුව ද පියා ගේ ලකුණු (සංඥා) - (වරිගේ) නම සනුවරය දක්වන්නා 'සත්' නමට නිසි වෙයි.

සකුවෙන් පාලියෙන් දෙමළුයෙන් බිඳගත් හ යි සැලැකෙන වදන් කිහිපයක් ද සකු, පාළි, දෙමළ, ග්‍රීක, ලතින, ඉංගිරිසි යන බස්හිත් සිංහළයෙහිත් තත්සම වැ ලැබෙන වදන් කිහිපයක් ද අපි විමැසීමට ලක් කෙළෙමු.

මෙහි දී එ බස්හි තනි වදන් ලෙස ලැබෙන එ මැ වදන් අරුතට අදාළ ව ම හෙළ බසින් විබෙදා නිරුත් දක්විය හැකි බව පෙනිණි. දැන් අපි වදන්හි උරුමය පිළිබඳ මෙ වන් නිනවුවකට පත් වී සිටිමු.

වදනක් අරුතට අදාළ ව ම යම් බසෙකින් විබෙදා නිරුත දක්විය හැකි නම් ඒ වදන එ ම බසට අයත් වදනෙක් වෙයි.

### (iii) රැසේ යටගියාව මතුවෙයි

දෙසකට රැසකට මෙන් ම බසකට යටගියාවෙක් වෙයි. යටගියාව නම් ඉහත පවත යි හෙවත් යට ගිය තොරතුරු යි. ඉති + ඉහත් > ඉතිහත් > ඉතිහස් යනුවෙන් ද එ ම තතුව හැඳින්වේ. ඉතිහාසය යනු අපේ ඉතිහස් යන්නෙහි සංස්කෘත රූපය යි. ඉතිහාස යන මෙ වදනේ නිරුත අනුව බලන විට ආදි හෙළයන් යටගියාවක් ගැන සැලැකූ යම් යම් දෑ ලියා තැබූ පිරිසක් බව හැඟැවෙයි. මෙ සේ වදන් අරුත් මතු කිරීමට බෙහෙවින් උදවු වන්නේ ඒ වදන විබෙදා දක්වීම යි. එ හෙයින් වදනේ විබෙදුව (වාග් විග්‍රහය) එ වදනේ යටගියාව පමණක් නො ව එය වහර කළ ජන රැසේ සුළමුල ද මතු කරයි.

එ නම්,

(i) ළංකාව මහ දිවයිනක් ව පැවැති වග
(ii) හෙළයන් ආදි ගොවියන් වූ වග
(iii) හෙළයන් ආදි වෙදුන් වූ වග
(iv) හෙළයන් ආදි නැවියන් වූ වග
(v) හෙළයන් ආදි විදුදරන් (විද්‍යාධරයන්) වූ වග
(vi) හෙළයන් ලොව පුරා ජනාවාස ඇති කළ පිරිසක් වූ වග
(vii) හෙළයන් දඹදිව පුරා ගම් පිහිටැවූවන් වග
(viii) ආදි නගර සැබියාව හෙළයන් අයත් වග
(x) සිවු හෙළයන් සිංහළයන් වූ වග

ඈ සුළමුල යි.

# හෙළ අවුරුදු පුරාණය

සිංහල හා හින්දු අලුත් අවුරුද්ද යනුවෙන් මෙ උලෙළ හඳුන්වාදීම අපේ ලිත්කරුවන් විසින් ඇති කැරුණෙකි. මෙය අපේ පුවත්පත්කරුවෝ ද කෙරෙති. අපේ දෙස්පලු නායකයෝ ද ''සිංහල හා හින්දු'' යැ යි මහත් අබිරුචියෙකින් මෙන් සබා මැද දෙසති. ජාතික සමඟියටත් වඩා වැඩදායක අනෙක් අරමුණක් සිත යටැ තබාගෙනැ දූ යි නො දනුම්හ.

කෙ සේ වුවත් 'හින්දු' යැ යි කී පමණින් දෙමල යැ යි ගැනීමට කිසි දූ හේතුවෙක් නො පෙනේ. හින්දු යනු දෙමල දනන් ද ඇතුළත් සුවිසල් ජනමුළක් අදහන ආගම සඳහා පොදු නමක් හෙයිනි.

රාවන, කුවෙර ආදි හෙළයෝ ද හින්දුවෝ වූ හ. සිව ඇදැහිය පිළිගත් හෙයිනි. අප තිල විසින් බුදුනුවන් වීමට පෙරැ දෙවනපෑ තිස් නිරිඳු සිවයකු නුවූ හ යි කෙ සේ කියමු ද? එ රජු ගේ පියා සිව නමින් මැ වූවෙකි.

සිව ඇදූහියේ මුල හෙළදිවේ වූ බවටත්, එය කුවෙර රජු (කි.පෙ. 2557 - 2509) විසින් උතුරු දඹදිවට ගෙන යන ලද බවටත් දෙස් රාමායණයෙන් මැ ලැබේ.

හින්දු දහමට අයත් වේදය හෙළ බසින් මුලැ දී ලියැවුණු බවටත් එය හෙළ බසින් මැ කතරගමැ සිව රජු විසින් ලියැවුණු බවටත් පසු කලැ, (කි.පෙ. 6000 තරමෙ දී), හෙළ බසින් වූ වේදය සකු බසට හැරැවී දඹදිව් දනන් අතරේ පුළුල් සේ පැතිරී ගිය බවටත් කරුණු ආදි හෙළ යටගියාවෙන් ලැබේ.

හින්දු යන නමෙහි නිරුත ඇත්තේ ද හෙළ බසෙහි ය.

මන්දු, සිමන්දු, පළේසි මන්දු යනු මනු රජු නිසා හෙළදිව ලැබූ තව ද නම් වෙයි. මනුහු ගේ දූව මන්දු යි. (මනු + දූ > මන්දු)

මනු දූ මන්දු වන්නා සේ මුහුදු දිවයින යැ යන අරුතැති සිඳු + දූ > සින්දු වෙයිඃ සින්දු > හින්දු වෙයිඃ හින්දු > ඉන්දු වෙයි.

දඹදිවට ජම්බුද්වීප යැ යන නම ලබාදුන් හෙළයන් නිසා එ රට ඉන්දු දෙස වීම කවර ඇසිරියෙක් ද?

හින්දු වැ සිටැ බුදුනු වූ අපට අද හින්දු යනු අමුතු යැ; බැහැරි යැ. සිව රජු විසින් (කි.පෙ. 10977 - 10903) කතරගමැ දී ලියැවුණු හින්දු දහම සමඟ මැ අප ගේ හෙළ රජ පවුලට අයත් සිව, උමා, කඳ, ගණ, රුවන්මලී (වල්ලි අම්මා) යන ඇත්තන් ද දඹදිවේ දෙවිවරුන් කොටැ එ රටට පාවා දුන්නෙමු. කො තරම් වරදෙක් ද?

හෙළදිවේ මනු රජු ගේ අගනුවර වූ මන්නාරමට හරි මුදුනේ සිටැ හෙළයට ලඹ රැස් හෙළමින් ම අස්විද නැකැතින් හෙළදිව මතැ එ වේලාවේ සිටුනා හෙළු රැසින් හිරු නව ගමන් වටය අරඹින වෙසෙසි දවස සිංහළ හා හින්දු අවුරුද්ද වූ වග දුන් අපි දනිමු.

හෙළ අවුරුදු පුරාණය මනු රජ පුරාණය (කි.පෙ. 28200 -28146) තරම් මැ පැරැණි යැ.

# සුර අසුර හටන

අදත් රුහුණේ හෙළ දරුවන් කෙළි පිටියෙහි ලා රැකැගෙන එන කෙළි සෙල්ලම් කිහිපයෙකි. මුත්තන් හැංගුණු පරිදි දැක්වෙන හැංගිමුත්තන්, කිත් තැත් (කීර්තිමත් පුඟුලන්) පැටි (කුඩා) කළ යුද උපායක් දක්වන පැටි කිත්තන්, සොළියා පිටින් ජය පෙරහරක් කළ සැටි පළ වන වොල් පිට වොල් ඈ මේ ඉපැරැණි හෙළ කෙළි පිළිබඳ දිගු විසිතුරෙක් දැක්වෙයි, සැරයට[1] කොග්ගල ජයමහ වෙල්ලාල සූරීන් ලියූ දිගු පෙරවදනෙහි[2].

එහි එන සුරන් ගැහිල්ල, නම් කෙළියෙන් පිළිබිඹු වන්නේ සුර අසුර හටනෙහි (කි.පෙ. 3197) රණ බිමෙහි පැවැති හරඹයක් කෙළි බිමට හෙළ කොලුවන් හරවාගත් සැටි යි (සැරය 49 - 51 පිටු).

යාගයෙහි සතුන් බිලි දීම තහනම් කිරීමේ රාවන රජු ගේ නියෝගය රම් රවුළු හටනට අනියම් හේතුවක් වූ අයුරින් මැ සුර අසුර හටනට රවුර රාම රජු සුරයන් ගේ සිවු කුල තහනම් කළ නියෝග ද එ බඳු මැ හේතුවක් වූ බව මෙහි දැක්වේ.

දඹදිව් බමුණන් ගේ ඊනියා කුල වාදයෙන් දඹදිව් ජන පිරිස් කො තෙක් අසහනයට පත් වුණා ද යන බව බුදු හිමියන් දවස ඇතැම් සිදුවීම්වලින් හා පන්සිය පනස් දාවෙහි එන මාතංග ජාතකයෙන් ද පැහැදිලි වේ. ඊනියා කුලවතුන් මැ මිසැ සෙස්සන් තපස් රැකීම පවා මරණීය දඬුවම ලබන වරදක් බව රාමායනයෙහි දැහැමි රාම රජු ගේ සිරිතින් ද පිළිබිඹු වේ.

එ දා දඹදිව් සමාජය රජ (ක්ෂත්‍රිය), බමුණු (බ්‍රාහ්මණ), වෙළෙඳ (වෛශ්‍ය), සුදුරු (ශුද්‍ර) යැ යි හතර වරිගයකට බෙදා තිබිණි. මේ බෙදුම අනුව සියල් සත් වගට නැති ව ම බැරි එක, පළමු එක, අහර, සපයන ගොවියා තුන් වැනි තතුයෙනුත් පහළට හෙළන ලදි. සිය නැණින් නවකම් දනවන සිල්පි කුල ද තැනක් නැති තතුවට බාල කැරිණි.

කවර රටෙකැ ජාතියෙකැ වුව ද වැඩුම සඳහා ගොවි, කම්කරු, වෙළෙඳ දනන් නැංවීම ඇවැසිතම යැ. ගොවි උපකරණ පමණක්

1. දළසළ කුමරුන් ගේ සැරය, පළ කැරුම උණවටුනේ හේළි පහරුව, 1943
2. සැරය 36 - 58 පිටු

නො වැ රණ අවි තැනුමෙහි ද වෙසෙසි නිමැවුම් හැකියාවෙන් යුතු හෙළ කම්මල් සිප් කමෙහි මහිමය එ සේ මෙ සේ වූවක් නොවන බවට රුබේරු ගේ සටහනක් අනුවැ වර ලත් මැවිසුරු (ඉංජිනේරු) ඊලියන් ද සිල්වා ගේ මේ පැවැසුමෙන් ද පෙනේ.

"පර සතුරු උවදුරු වළකමින් රටේ නිදහස රැකගැන්ම සඳහා සිංහළ රජදරුවන් හට යුද වදින්නට සිදු විණි.

"ඒ සඳහා වුවමනා කඩුව, සිරිය, හෙල්ල, පළිහ, ආදිය ද, වගාව සඳහා වුවමනා උදැල්ල, නගුල, කැත්ත, පොරොව ආදිය ද, ගමනාගමනය සඳහා වුවමනා ගැල්, කරත්ත ආදිය ද, නිතර නිතර සාදාගැන්ම ඉතා වැදගත් විණි.

"එ වන් කටයුත්තට අදාළ සිප්ලකුව පුරුදු පුහුණු කළෝ පිය-පුතු පරපුරින් පරපුරට ඒ සිප් ලකුව (ටෙක්නොලොජි) රැකෙන්නට සැලැසුවෝ යි. ඒ අය වෙසෙසි ජන කොටසකට අයත් වෙති. උනට පැවැරී තිබුණේ දයෙහි රැක්ම සඳහා වෙසෙසි ආම්පන්න නවතම සිප්ලකු යොදා මවාදීම යි.

"නිම + කම් යන දෙ වදන නිමහම් යන වදන වන්නා සේ මැ, නව + කම් යන දෙ වදන නවහම් යන වදනට හැරෙයි.

"නව දෑ, මැවීම, බිහි කිරීම යන අරුත් දෙන වදන නම් 'දනවයි' යන්න යි. හිසර සඳෙසෙහි දක්වෙන මෙ පැදිය එයට දෙස් දෙයි.

"යන එන දිගැසියන් ඇඳි සළු මිණි මෙවුල
ළිහිලුදු කෙරෙයි, තිල් වරලුදු මලිනවුල
ඩා බිඳු ද දනවයි, ගමනුදු කෙරෙ අවුල
එ හෙයින් සලෙළු ගුණ ගති උග්ගල් බැවුල'

ඒ අනුවැ නව කම් මවන ඇත්තෝ 'නවහම් දනවන්නන්' ලෙසින් හැඳින්වුණු. කට වහර එය මට සිලිටු කෙළෙන් 'නවන්දන්නන්' ලෙසින් පළට ගියේ යි.

"ඔවුහු සමහරෙක් රජු යුදට යන විටැ යුදුවන් සමඟ මැ ගියෝ යැ. යුද අවි යුද පිටියේ දී ම පිළිසකර කැරදීම ද, සුනිසි සේ රණ අවි මවා සාදාදීම ද ඔවුන් ගේ කාරිය විණි.

''පරංගින් මෙ රටට එන විටැ ගිනි අවි ගැනැ හෝ වෙඩි බෙහෙත් ගැනැ හෝ හෙළයෝ නො දනැ සිටියෝ යැ. එහෙත් පරංගින් අතැ තුබූ ඒ අවි යුද පිටියේ දී දුටු මතින්, එ වන් අවි මවාදීමේ හැකියාව නවන්දන්නයනට තිබිණි. එ හෙයින් පරංගි සිංහළ මහ හටන පටන් ගෙනැ නොබෝ කලෙකින් ගිනි අවි ගත් සිංහළ සෙබළුන් විසි දහසක් රජසිංහ රදාණෝ යුද බිමෙහි යෙදූ හ.

''එ තෙක් නො දක, නො දනැ සිටි අවි ඉතා කෙටි කලෙකින් සැදූ වගත්, ගිනි අවි රැගත් සිංහළ සෙබළුන් විසි දහසක් යුදට එවූ වගත් පවසන්නේ සිංහළයා නො වෙයි; මෙහි දී යුද මෙහෙයැවූ පරංගි නිලදරයා මැ යි. ඒ නිලදරයා එ තෙකින් නො නැවැතී සිංහළ ගිනි අවි පරංගි ගිනි අවි ද අබිබවා සිටි වගත් පවසනවා.

''එ බඳු යැ, සිංහළ සිප්ලකුවේ විස්කම් දස්කම්.''

(වරලත් ඉංජිනේරු ඊලියන් ද සිල්වා, පූජිත ජීවිත)

මුලින් මැ ගිනි අවි රණ බිමේ යෙදූවන් වීමේ තතුව ද හෙළයන් සතු බව රම් - රවුළු සටන අපට පවසයි. එහෙත් සුරාසුර හටන් අවදියේ ගිනි අවි මැවීමක් ගැන සඳහනෙක් නො පෙනේ. ''ලක්ෂ්මී ස්කෞස්තුභ පාරිජාතක සුරා ධන්වන්තරීශ්වන්ද්‍රිමා'' යනුවෙන් ඇරඹෙන එ මැ සකු සිලොවින් සංකේතවත් වන හැටියට නම් සුරාසුර හටන හෙළදිව රුවන් ගැරීමකට එ තෙර සතුරන් හට සැහෙන ඉඩ අවසරයක් ලබා දීමෙකි.

# රාවන පුවත

මිසරයේ පාරාවෝ මෙන් රාවෝ හෙවත් රාවන යන නම ආදි හෙළ රජුනට පොදු නමක් වූ බවට දෙස් ලැබේ. රාවන සොහොවුරු විබීසන (විභීෂණ) නම පවා බාල භාරතය සහදේව රජු ගේ ලංකාවතරණය හා ඈඳා ඇත්තේ ද ලංකාවතාර සූත්‍රයෙහිත් රාජාවලියෙහිත් රාවන නම සඳහන් කොටැ ඇති පොදු අයුරිනි. රාජාවලිය දක්වන රාවන මරණය විජයාගමනයෙන් වසර 1844කට පෙරැ වී යැ යි යන පුවත තව මඳක් ඈතට යා යුතු වන්නේ ද මේ නිසා ය.

රාවන යුගය කි.පෙ. 2554 - 2517 අතරැ වූ සේ අප නිගමනය කෙළේ අසල් වැසි රටවලැ ඉපැරැණි යටගියා පුවත්, අපේ රටේ වංසකතා විත්ති පුවත් ද ගෙනැ සසඳා බැලීමෙනි. මේ මිසරයේ සක-අප්-රා (කි.පෙ. 2520) චීනයේ චොහවු (කි.පෙ. 2577) අයෝධ්‍යාවේ දශරථ (කි.පෙ. 2529) කාස්මිහිරේ (උතුරු කුරු - කින්නර දෙ රටේ) කුවේර (කි.පෙ. 2554-) රාවන මහ රජුට සම-කැලි රජහු වෙති.

රාමායණ කතාවත් අප රටේ වංසකතා, සාහිත්‍ය, පබඳ, ආදියත් අනුව රාවන පුලත් පරපුරට අයත් ය. පුලස්ති නමින් රාමායණාදි පොත්හි සඳහන් වනුයේ මේ රාවන මුත්තණු පුලත් රජතුමා යි. පොලොන්නරුව තම නමින් ම හඳුන්වා එහි වෙසෙමින් ලක් රජය විචාළ පුලත් රජු ගේ පුත් විශ්‍රවස් (විස්වස්) ය. විශ්‍රවස් ගේ දෙටු පුත් වෛශ්‍රවණ (වෙසවුණු) නම් වී. රාවන විස්වස් රජු නිසා අන් බිසවක ලද පුතුන් අතරින් වැඩිමලා යි. හේ දෙටු සෝවුරා සතු ලක් රජය පැහැරගති. කුවේර රජ ද ලංකාව මලුට දී උතුරු දඹදිව් ගොස් එහි කුරු-කින්නර දෙ රට සිංහළ ජනාවාසයක් බවට පත් කෙළේ ය.

රාම-රාවන හටනට හේතුව සීතාහරණය බව රාමායණය දක්වයි. එහෙත් මෙ ම හටන ඇත්ත විසින් බලනවා නම් සිහසුන සඳහා විබීසන යුව රජු සිය සොහොවුරා හා කළ හටනක් ලෙස සැලැකිය හැකි ය. සීතාව ගේ පිරිසුදු බව ඔප්පු වීමෙන් පෙනෙනුයේ ද එය රාවන කෙරෙහි රැටියන් කලකිරවා සිය පසට වාසිය ලබාගැනීම සඳහා විබීසන යුව රජු ඇටැවූ ප්‍රබන්ධයක් සේ යැ.

රාවන රජුට විරුදු නම් රැසක් වූ අතර 'රාවන' යන්න ද එ වැන්නෙකි. හිරු ගොත් යනු රා (හිරු) වන (පරපුර) යන්නෙහි

අරුත යි. දඹදිවේ ආරිය දනන් ගේ සකු බසේ නියරින් මේ සිංහළ රජු නම රාවණ යැ යි ද, දෙමල නියරින් 'ඉරාවණන්' යැ යි ද ගනිති.

දසගිව්, දසහිස් යන විරුද මෙ රජුට පට බැඳුණේ ඔහුට දස රටක් වෙනුවෙන් ඔටුනු දසයක් වූ නිසා යැ යි හෙළදිවේ පඬුවෝ පවසති. තුන් ලොව දිනූ තැනැත්තා යැ ය අරුත් ඇති 'තුන් ලෝ ජිත්' යනු ද තව පට බැඳි නමෙකි. මේ කියන තුන් ලොව නමින් මහ දිව් තුනක් හෝ මහා ජාතීන් තුනක් හෝ ගත හැකි ය. ඔහු විසින් දඹදිවේ නාග, දේව, පිශාච යන මහ ජාතීහු යටත් කරනු ලැබූ හ.

තව ද දස රාවන කෙනකුන් ගැන ද සඳහන් වෙයි. ඔහු නම් රාජාදිරාවන, විරුරාවන, තිරරාවන, රණරාවන, සිරිරාවන, තරුරාවන, පුනුරාවන, මනුරාවන, දික්රාවන යන මොහු ය.

රාවන යුගයේ දඬුමොනරය නමින් හැඳින්වුණේ ගුවන් නැව් වෙසෙසෙකි. රාමායණය 'පුෂ්පක' නමින් මෙය හඳුන්වයි. තෙල් ආදි බල වේගයක් නැති ව වුවත් හුළං පෙත්තක් මඟින් මිනිසකු නොබෝ දා ඉංගිරිසි ඕඩය හරහා පියා හැඹීමෙන් ද ඔප්පු වනුයේ රාවන යුගය බඳු විදූ යුගයෙක ගුවන් නැවක් තිපැයීම අසිරියක් නොවන බව යි. වායුවෙක මඟින් ගුවන් ගමන් ගත් රිය හෙයින් රාවන දඬුමොනරය වාරිය යන නම ද ඒ වාරිය නැවැත්වූ, තැන් වාරිය පොළ නම් වූ බව ද සැලැකියැ හැකි යැ.

වෙදකු ද හැටියෙන් ද රාවන සතු වනුයේ ඉහළ තැනෙකි. ඔහු ගේ නමින් අද ද ඇති වෙද පොත් සතෙක් වෙයි. එ නම් නාඩි පරීක්ෂා, අර්ක ප්‍රකාශය, රසරත්නාකරය, උඩ්ඩිස චිකිත්සා, ඔඩ්ඩිස චිකිත්සා, කුමාර තන්ත්‍රය, වටිකා ප්‍රකරණය යන පොත් ය. මුලින් හෙළ බසින් ලියැවුණු මේ පොත් පසු කලෙක සකු බසට හැරැවුණ බව විද්වත් කුමරතුඟු මුනිදස්හු පවසත්. දේවිය ගේ දොළදුක සන්සිඳුවීම සඳහා වෙද පොතක් ලිවීමෙන් ද, යාගයේ බිලි පුද වැළැක්වීමෙන් ද රාවන සත්ත්ව කරුණාව හෙළි වෙයි. හටනෙහි තුවාළ ලද සතුරු නායක (රාම, ලක්සුමන) දෙ පළට සිය'තින් මැ පිළියම් කොට සුව පත් කිරීමෙන් රාවන රජු දැක්වූ උදාර ගුණයට සම නිදසුනක් මිනිස් ඉතිහාසයේ මෙ තෙක් ලැබී නැත්තේ යි.

'රාවන රාග' නමින් තාලයක් ද 'රාවන වීණා' නමින් වීණා වෙසෙසක් ද ඔහු නිපැදැවූ වගක් දඹදිව් ඇදුරෝ ම පවසති. රාවන නමින්

ඇති 'ශිවතාණ්ඩව ස්තෝත්‍රය' දක්වනුයේ ඔහු ඉහළ ම ගී පබඳුවකු වූ බව යි. වෙස් කෙළිය (දාම් පෙත) ද රාවන ගේ නිපැදවීමෙකි.

රාවන ගේ අගනුවර වූ ළංකා පුරයත් රටෙන් වැඩි හරියකුත් මුදු බත් වී ඇති බව රාජාවලිය, සද්ධර්මාලංකාරය හා විත්ති පොත් පවසයි. මෙ කියන රාවන යුගයෙහි වූ ගිලුම ළංකා මහ ගිලුම්වලින් දෙ වැන්න යි. පළමු වැන්න තාරක යුගයේ ද (කි.පෙ. 110 සි.ව.) තෙ වැන්න කැලණි තිස් යුගයේ ද (කි.පෙ. 2 සි.ව.) වූ බව පැවැසෙයි.

කෙ සේ වුව ද රාවන යුගයේ ළංකාව අද මෙන් කිහිප ගුණයක් ලොකු රටක් ව පැවැති බව නම් නිසැක ය. මුහුදු පත්ලේ සැඟැවී ඇති රාවන ළංකාව ජර්මන් ජාතික ක්ලිමාන් ට්රෝය් නගරය මතු කළාක් මෙන් කිසි යම් දිනෙක කිසි යම් විද්වතකු මතු කරනු නිසැක ය.

## රාජාදිරාවන රජ පෙළපත

පුලතිසි + ඉළා
(පුලස්ති)
(ක්‍රි.පෙ. 2666 - 2616)

විස්වස් + සුකිරා
(විශ්‍රවස්)
(2606 - 2556)

වෙසවුණු
(වෛශ්‍රවණ - කුවෙර)
(2556 - 2509)

නල කුවෙර
(2509 - .....)

මිණිලක් + සුමී

නිකසා

රාවන + මදෝරා
(2554-2517)

ඉන්ද්‍රජිත්

විබීහිසොන් + මන්ති
(විභීෂණ)
(2517-2459)

වාසුක
(2459-2406)

සුපනි
(ශූපර්ණකා)

කුඹුකන්
(කුම්භකර්ණ)

18 සටහන

# දඹදිවට ද පැතිරුණු හෙළ ගම් නම් රටාව

ඉන්දීය පුරාවිද්‍යාඥයකු වන ආචාර්ය සංකාලියා රාවන ළංකාවක් ඔරිස්සාවේ මහා නදියට තෙල් නදිය එක් වන පෙදෙසේ වූ බවක් වරක් පැවැසී ය. එහි වෙසෙන 'ගොණ්ඩා' සහ 'කොරකා' වරිගයේ මිනිසුන් රාම නො ව රාවන දේවත්වයෙන් පිදීම ඔහු සිය මතයට දෙස් කොටැ දක්වා තිබිණි. එහි ඇති ළංකා ගම්, සිංහළ ගම් නම් රටාව ඔරිස්සාවේ ද පැවැතුණු බවට හොඳ නිදසුනෙකි. සිල්වන් ලෙවි පඬිතුමා පවසන ලෙසට ඉන්දියාවේ බටහිර වෙරළින් මුහුදු දක්නා ගෝදාවාරි ගං මෝදර පිහිටි දිවි යන සිංහළ වදනින් හැඳින්වෙන දූපතත් ළංකාවෙකි.

එ ම වෙරළෙහි එ ම දූවට දකුණෙන්, බොම්බාය අයත් දිවයිනේ දකුණු බොක්ක අදත් හැඳින්වෙන්නේ සිංහළයෙන් තොටමුණ හෙවත් වරාය යන තේරුම ඇති කොළොබ යන නමිනි. දඹදිවේ පිහිටි නාග ළංකා, පූත ළංකා ආදි තව ළංකා කිහිපයක් ගැන ඉවුජින් බර්නොප් පළ කළ ලිපියෙක් ද මෙ ම සඟරාවේ කලින් පළ වී තිබිණි.

දකුණු දඹදිවේ ද ළංකා නමින් පටුන් ගම් වූ බව ටොලමි ගේ සිතියමෙන් දක්වේ.

දඹදිවේ ඇතැම් ගම් නම් (නිල් ගිරි, සත්පුර, ගිරිනාර් ඈ) ලකුණු දක්වන්නේ ද ඒවා නම් කළ දනන් හෙළ බස වැහැරවූ ජන පිරිසක් වූ බව යි. නිල්, සත්, නා යන වදන් වුවත්, ආරිය ගොන්නෙහි ගැනෙන දඹදිව් බස්හි ලැබෙනුයේ නීල, සත්ත්ව, නායක යන හැටියට ය. ඇත්තට ම නිල් සත් නාර් යන වදන්හි මුල් ඇත්තේ හෙළ බසෙහි ය. හෙළ මුලින් ම පැන නැඟි සේ සැක කළ හැකි තරමට ම දඹදිවේ ගම් නම් රටාව ද අපට අසල් යැ. දකුණු දඹදිවේ ඇතැම් ගම් නම් යාපා පටුනේ ගම් නම් මෙන් පසු කලෙක මුහුණුවර පෙරළුණු හෙළ වදන් බව ද පැහැදිළි වේ. පහත දක්වෙනුයේ දඹදිවේ දිස්ත්‍රික්ක කිහිපයෙක ගම් නම් හා ඒ නම් සුළු සැකැසීමෙකින් මතු වන සිංහළ මුහුණුවර යි.

ආර්කොට් දිස්ත්‍රික්කය

පුප්කුලම් (පූකුලම) සිරුවත්තුරු (සිරිවත්තුරුව) සිවපුරම් (සිවපුර) ශ්‍රී පාද නල්ලූර් (සිරි පාද නල්ලූරුව) ඌරින්ගානි (ඌරන්ගනි) යාල් (යාල) ඉලමංගලම් (හෙළ මංගල) මානූර් (මා නුවර)

පට්ටනම් (පටුන) සිරුවාඩි (සිරිවාඩිය) ඌරල් (ඌරල) ඌරනි (ඌරනිය) අරලි (අරලිය) නගර් (නගර)

**බෙලරි දිස්ත්‍රික්කය**

බෙලගල්ලු (බලගල්ල) බේම්පල්ල (බුම්පල්ල) එන්දපල්ල (ඇන්දපල්ල) ගනේකල්ලු (ගණේගල්ල) ගවුඩගල්ලු (ගවුඩගල) ගුඩිකල්ලු (කුඩගල) මන්දිගිරි (මැඳිරිගිරිය) පර්වතපුරම් (පර්වතපුරය) සාතනූරු (සාතානුවර) කප්පගල්ලු (කප්පාගල) කෝනූරු (කෝනූරුව) කුරු ගෝඩු (කුරුගොඩ) සත්තූර් (සත්තුරුව) අමරාවතී (අමරාවතිය) කෝඩාල් (ගොඩැල්ල)

**චිංගල්පුට් දිස්ත්‍රික්කය**

අගාරම් (අගාර) අත්තූර් (අත්තුරුව) චිංගල්පුට් (සිංහළ පෙදෙස) දක්ෂිණාවර්ති (දක්ෂිණාවර්තය) ඉලලූර් (හෙළලූරුව) කල්වායි (ගල්වාය) නෙරුම්බූර් (නෙරුඹුර) පුල්ලේරි (පුල්ලේරිය) විලාගම් (විලාගම) ගෝවින්දවාඩි (ගෝවින්දවාඩිය) ඉළනගර් (හෙළ නගර) ඉලුප්පයිපත්තු (ඉලුප්පාපත්තුව)

**ගංතූර් දිස්ත්‍රික්කය**

බාපත්ල (බාපත්ල) දේවරාපල්ලෙ (දේවරාපල්ල) ඉනගල්ලු (ඉනගල්ල) වල්ලූරු (වල්ලූරුව) ගාරපාඩු (ගරාපාඩුව) ගංතූර් (ගංතුරේ) ලේ මල්ලෙපාඩු (ලේමල්ලෙපාඩුව) කුරගල්ලු (කුරගල) රාවෙල (රාවෙල) තෙල්ලූරු (තෙල්ලූරුව) උන්නව (උන්නව) ලක්කවරම් (ළංකාවරම) තෝටපල්ලේ (තොටපල්ල) අත්තතෝට (අත්තොට)

**කනරා දිස්ත්‍රික්කය**

දේවල්කුන්ඩ (දේවාලකන්ද) කේර්ගාල් (කැරගල) නාගොඩි (නාගොඩ) අන්දාර (අඳර) මාල (මාල) නාරවි (නාරාවිය) නාවර (නාවර) පල්ලි (පල්ලිය) බෙල්ලූරු (බෙල්ලූරුව) පාඩි (පාඩුව) තලේකල (තලේගල) කන්දාවර (කඳවර) කින්නියා (කින්නියාව) මූද්ද (මූද) තුන්බේ (තුම්පේ)

## කිස්නා දිස්ත්‍රික්කය

ළංකා පල්ලි (ළංකා පල්ලිය) ළංකා පල්ලි ළංකා (ළංකා පල්ලි ළංකාව) ළංකා ළකළ කුන්ත (ළංකා ළකළ කුන්තය) ගෝසාල (ගෝසාල) කොත්තුරු (කොත්තුරුව) තෙන්නේරු (සෙන්නේරුව) තෝලුකෝඩු (තොලුගොඩ) පාලන්කිපාඩු (පාලම්පාඩුව) පිත්තල් ළංකා (පිදිතලළංකා) බෝලපාඩු (බෝලපාඩුව) එළුකපාඩු (එළුකපාඩුව) වෙන්නූරු (සෙන්නූරුව) උරුවි (උරුවිය) විත්තේල (සිත්තල)

## කර්නූල් දිස්ත්‍රික්කය

එරගොඩ (එරගොඩ) බෙලගල් (බෙලගල) දේවමඩ (දේවමඩ) කුරුව (කුරුව) ලද්දගිරි (ලදගිරිය) නයකල්ල (නායගල්ල) එල්ලපුර (හෙළපුර) මල්යාල (මල්යාල) මොරවකොන්ඩ (මොරවකන්ද) වෙල්ලාල (වෙල්ලාල) වෙලගොඩු (වෙලගොඩ) වජ්‍රගිරි (වජිරගිරිය) මිත්නාල (මිත්නාල) කානාල (කානාල) අලවාල (අලවාල) අඩවිලාගම් (අඩවිලාගම) කලත්තූර් (කලත්තුරුව) කම්බලත් බත්තු (කම්මලපත්තුව) කරණව (කරණව) කුරුම්බූර් (කුරුඹුරු) මහබලිපුරම් (මහබලිපුරම) මානාමඩු (මානාමඩුව) පලාවෙල (පලාවෙල) පුත්තූර් (පුත්තුරුව) ඉරිවායි (ඉරිවාය) කුරුවාඩි (කුරුවාඩිය) සෙන්නේරු (සෙන්නේරුව) මුත්නාකුලම් (මොන්නෑකුලම) උනාමලෙයි (උනාමලේ) අගාරම් (අගාරම) අරණ (අරණ) වෙංගල්වාකංඩිගෙයි (සිංහළ වෑකන්ද ගේ) එළවූර් (හෙළ ඌරුව) එල්ලපුර (හෙළපුර) ඉරුගලම් (ඉරුගලම) කරන්ඕඩෙයි (කැරන්ඕඩය) කොට්ටුක්කාඩු (කොට්ටකඩුව) මාන්කොඩු (මාන්ගොඩ) පොන්නේරි(පුන්නේරිය) සෙන්නේරි (සෙන්නේරිය) සිරනයි (සිරන) සිංගිලිකුප්පම් (සිංහළකුප්පම) උරුපෙත්තෙයි (උරුපෙත්ත)

## චිත්තූර් දිස්ත්‍රික්කය

ආරේ පල්ලේ (ආරේපල්ල) බලපල්ලේ (බලපල්ල) අත්තුරු (අත්තුරුව) බෙරුපල්ලෙ (බෙරුපල්ල) එළන්කිවාරිපල්ලේ (ළංකාවාරිපල්ල) අම්මානේරි (අම්මානේරිය) ගොරපාඩු (ගොරපාඩුව) නාගපත්ල (නාගපත්ල) මලේපාඩු (මලේපාඩුව) කුරුවාකුන්නේරි (කුරුවාකුන්නේරිය) යාලකල්ලු (යාලගල) කන්දූරු (කඳුර) ලද්දිගම් (ලද්දිගම) දේවාලම්පෙත (දේවාලම්පෙත) පූදිපත්ල (පූදපත්ල) සිංගෙලිපාදෙ (සිංහළ පාදය) වදකල් (වදගල) එළුපූර් (එළුපුර) කොක්පූර් (කොක්පුර) කල්පත්තෙ (ගල්පත්ත)

### කොයිම්බතූර් දිස්ත්‍රික්කය

අක්කරෙයි සෙන්ගප්පල්ලි (අක්කර සිංහ පල්ලිය) මූදුතුරෙයි (මූදුතුරේ) නෙල්ලිත්තුරේ (නෙල්ලිතුරේ) වෙල්ලමඩෙයි (වැල්ලමඩ) කාගම් (කාගම) කල්ලාකුලම් (ගල්ලාකුලම) කොල්ලන් කෝවිල් (කොල්ලන්කෝවිල) සිවගිරි (සිවගිරිය) ඉරුගාලූර් (ඉරුගල්ඌරුව) මල්ලන්කුලි (මල්ලන්කුලිය) නල්ලූර් (නල්ලූරුව)

### චුද්දප්පා දිස්ත්‍රික්කය

අක්කම්පේත (අකම්පෙත) බද්වේල් (බතවෙල) එල්ලපල්ලෙ (හෙළපල්ල) ගංගායපල්ල (ගංගාවපල්ල) කොට්ටපල්ලෙ (කොට්ටපල්ල) මුදුමාල (මුදුමාල) තේල්ලපාඩු (තෙල්ලපාඩුව) වීරපල්ල (වීරපල්ල) තුඩුමලදින්නෙයි (තුඩමලදින්න) දම්මනපල්ලෙ (දමනපල්ල) දෙව්ගුඩ් (දෙව්ගොඩ) වේමුල (වේමුල) පලගිරි (පලගිරිය)

### ගංජම් දිස්ත්‍රික්කය

බාදුලා (බාදුලාව) බහදාගුඩ (බාදාගොඩ) බාහුකපොල්ලි (බාහුකපොල්ල) බෙල්ගම් (වෙල්ගම) සෙලගම් (සෙල්ගම) බුදුක (බුදුක) සිරිපුරෝ (සිරිපුර) සිංගිපුරෝ (සිංහපුර) බහුල්ගම් (බහුල්ගම) හින්දොළ (හිඳොල) හිංදොල්පොළ (හිදෙල්පොළ) නදගම් (නදගම) බෝගොඩ (බෝගොඩ) බොදෝගම් (බොදෝගම) තම්චේරි (තම්චේරිය)

### මදුර දිස්ත්‍රික්කය

අලගපට්ටි ( අලගුපට්ටිය) අම්බත්තුරෙයි (අඹතුරේ) පූතිපුරම් (බෝදිපුර) සිත්තූර් (සිත්තුරුව) කෝඩල්වාව් (ගොඩැලිවැව) කෝම්බෙයි (කෝම්පෙ) කුම්බූර් (කුඹුර) ලන්දක්කට්ටෙයි (ලන්දෙකට්ට) නල්ලූර් (නල්ලුරුව) පුත්තූර් (පුත්තුරුව) සක්කිලියාකොඩෙයි (සක්කිලියාගොඩ) සිංගාරක්කෝට්ටෙයි (සිංගාර කෝට්ටේ) සිරන්කඩු (සිරන්කඩුව) සිරිමලෙයි (සිරිමලේ) තමරෙයික්කුලම් (තඹරක්කුලම) තෝනිමලෙයි (තෝනිමලේ) වඩුගම්පාඩි (වඩුගම්වාඩිය) විරුක්කල් (වීරගල) වඩකාඩු (වටකඩුව) විල්පත්ති (විල්පත්තුව) අයිලාන්ගුඩ් (අයිලන්ගොඩ) අත්තිකුලම් (ඇත්කුලම) බූදක්කුඩ් (බූතගොඩ) ඉච්චන්තේරි (ඉත්තන්තේරිය) නෙඩුන්කුලම් (නැදුන්කුලම) කල්කුලම් (ගල්කුලම) පෙරුම්ගුඩ් (පෙරුම්ගොඩ) පූනරි (පූනරුව) පූවක්කුඩ්

(පුවක්ගොඩ) සත්කුඩි (සත්ගොඩ) මාන්කුලම් (මාන්කුලම) තත්තනේරි (තත්තනේරිය) තෝඩනේරි (තෝඩනේරිය) වාකුලම් (වැ කුලම) වරගනේරි (වරකනේරිය) විලින්ගුඩි (විලාන්ගොඩ) කම්බූර් (කුඹුර) සෙන්දූරෙයි (සෙන්තුරේ) කල්ලනෙයි (ගල්ලෙන) තන්ඩලෙයි (තන්ඩල) අක්කරෙයිපත්ති (අක්කරපත්තුව) කෝම්බෙයිපත්ති (කොහොඹ පත්තුව) මන්ඩාවාඩි (මන්දාවාඩිය) පලනි (පලනිය) අගමලෙයි (අගමලේ) කොක්කුලම් (කොක්කුලම) මෝදගම් (මෝදගම) මරුදන්කුඩි (මරදන්ගොඩ) තාරකා කුඩි (තාරකාගොඩ)

මලබාර් දිස්ත්‍රික්කය

එළත්තූර් (හෙළතුරේ) පළාලි (බළල්ල) කච්චේරි (කත්සේරිය) කන්නන්කර (කන්නන්කරය) කසව (කසව) කොඩල් (ගොඩැල්ල) චේරුවාඩි (සේරුවාඩිය) කාරස්සේරි (කාරසේරිය) එරිමල (ඉරුමල) තමරස්සේරි ( තමරසේරිය) කුරුවේලි (කුරුවෙල) මාම්බ (මාම්ප) පලේරි (පලේරිය) එළයාවූර් (හෙළයාවුර) කොට්ටිල (කොටවිල) ඉරිනාව (ඉරිනාව) මදක්කර (මැදකරය) ඉරිවේරි (ඉරිවේරිය) පරික්කුලම් (පරකුලම) එත්තිකුලම් (ඇත්කුලම) වෙල්ලෝර (වෙල්ලෝර) එරුවත්ති (එරුවත්ත) කෝවූර් (ගෝවුර) කල්ලායි (ගල්යාය) නිර්වේලි (නිරවෙල) මනත්තන (මනත්තන) මුරින්ගෝඩි (මුරුන්ගොඩ) එලක්කුලි (හෙළකුලිය) කොට්ටප්පල්ලි (කොටපල්ලිය) අප්පළ (අක්පළ) උරගම් (උරගම)

නෙල්ලෝර් දිස්ත්‍රික්කය

බණ්ඩාරුපල්ලෙ (බණ්ඩාරපල්ල) බත්තුලපල්ලෙ (බත්තුලපල්ල) බත්තුලපල්ලෙපාඩු (බත්තුලපල්ලෙපාඩුව) එනමඩල (එනමඩල) කලුයායි (කලුයාය) කොට්ටපේන (කොටපෙත) නාගුලපාඩු (නාගුලපාඩුව) නාරම්පේත (නාරම්පෙත) නාවුරු (නාවුරුව) පෙරමන (පෙරමුණ) පසුපුගල්ලු (පසුපුගල්ල) මරෙල්ල (මාරැල්ල) වේමුල (වේමුල) තංගොල්ල (තංගල්ල) වාකඩ (වැකඩ) ලක්කාපල්ල (ලක්කාපල්ල) දම්පුර (දම්පුර)

## නිල්ගිරි දිස්ත්‍රික්කය

අරක්කෝඩු (අරක්ගොඩ) හුලිකල් (හුළුගල) කෝකෝඩු (කෝගොඩ) කෝනක්කරෙයි (කෝනක්කරය) කෝටගිරි (කොටගිරිය) උබතලෙයි (උපතලය) දේවාල (දේවාල) එරුමාඩු (හිරුමඩුව) මුදුමලෙයි (මුතුමලය) නෙල්ලියාලම් (නෙල්ලියාල) පාදන්තර (පාදන්තර) මසිනිගුඩි (මසිනගොඩ) තුනේරි (තුනේරිය)

## රම්නාද් දිස්ත්‍රික්කය

අල්ලිකුලම් (අලිකුලම) අම්බන්නේරි (අඹනේරිය) එලුවානි (හෙළවාන) ඉලප්පෙයි කුලම් (ඉලුප්පාකුලම) නාරික්කුඩි (නාරිගොඩ) කල්කුලම් (ගල්කුලම) කම්පිලි (ගම්පළ) කත්තක්තුඩි (කත්තනගොඩ) මුත්තන්නේරි (මුත්තන්නේරිය) සිංහනාපුරම් (සිංහනාපුර) කුඩවේලි (කුඩාවෙල) නෙල්ලුර් (නෙල්ලුරුව) සේතුකල් (සේතුගල) මලල් (මලල) කල්ඌරනි (ගල්ඌරනිය)

## සාලෙම් දිස්ත්‍රික්කය

අත්තුර් (ඇත්තුරුව) කොට්ටනාඩි (කොට්ටනාඩුව) ලොද්දිවාඩි (ලක්දිව්වාඩිය) එල්ගිරි (ඇල්ගිරිය) පලකෝඩු (පලගොඩ) තඩන්ගම් (තඩන්ගම) මුත්තුර් (මුත්තුරුව) නල්ලූර් (නල්ලුරුව) අගලකෝට්ටෙයි (අගලකෝට්ටේ) උරිගම (උරිගම) බලෙයිකුලි (බලේකුලිය) නෙදුන්ගල් (නැදුන්ගල) සිංගල්පට්ටි (සිංහලපත්තුව) සිංගලන්කොම්බෙයි (සිංහළගුම්බය)

## තංජෝර් දිස්ත්‍රික්කය

ආලන්ගුඩි (ආලන්ගොඩ) අන්දකුඩි (අඳගොඩ) අත්තානි (අත්තානිය) වෙට්ටුකාඩු (සෙට්ටිකඩුව) ඉලන්ගුඩි (හෙළංගොඩ) ඉරුක්කල්කෝට්ටෙයි (ඉරුගල්කෝට්ටේ) ඉරුමුලෙයි (ඉරුමුල) කොට්ටන්ගුඩි (කොට්ටන්ගොඩ) මන්නාර්ගුඩි (මන්නාර්ගොඩ) තිත්තගුඩි (තිත්තගොඩ) කොල්ලන්කරෙයි (කොල්ලන්කරය) වෙල්ලූර් (වෙල්ලූරුව) අක්කරෙයිකෝට්ටගම් (අක්කර කොටුගම)

### තින්නවේලි දිස්ත්‍රික්කය

කොලුමඩෙයි (ගොලුමඩ) සෙන්කුලම (සෙන්කුලම) ආලම්පත්ති (ආලම්පත්තිය) නෙඩුන්කුලම් (නැදුන්කුලම) සෙන්ගල්පාදෙයි (සිංහලපදය) එරුවාඩි (ඉරුවාඩිය) කරන්දනේරි (කරදනේරිය) පද්මනේරි (පද්මනේරිය) සිංගනේරි (සිංහනේරිය) පෝයිගෙයි (පෝය ගෙය) කල්වායි (ගල්වාය) වඩුගම්පත්ති (වඩුගම්පත්තුව) සංගනප්පේරි (සඟනපේරිය) පත්තමඩෙයි (පත්තමඩ) ආරියප්පේරි (ආරියපේරිය) තුප්පාකුඩි (තුප්පාගොඩ) පාලාමඩෙයි (පහළමඩ) විලාගම් (විලාගම)

### ක්‍රිෂ්ණපොලි දිස්ත්‍රික්කය

එල්ලකාඩු (ඇළකඩුව) ඉරන්වාන්කුඩි (ඉරන්වානගොඩ) සුල්ලන්ගුඩි (සුල්ලන්ගොඩ) තන්ඩලෙයි (තන්ඩල) නාගවේලි (නාග වෙල) පුලාන්ගුඩි (බුලාන්ගොඩ) අරනාරෙයි (අරනාර) තිරුවාසි (හිරුවාසිය) ඉත්තේරි (ඉත්තේරිය) තෙන්නිලෙයි (සෙන්නිල) වාන්කල් (වාන්ගල) කල්ලෙයි (ගල්ල) කල්ලප්පල්ලි (ගල්පල්ලිය) නවගුඩි (නවගොඩ) සෙන්ගල් (සෙන්ගල) සීගම්පට්ටි (සීගම්පට්ටිය) වරවන (වරවන) සිරිගුඩි (සිරිගොඩ) කොම්බෙයි (කොහොඹ) නෙයිවේලි (නයිවල) කුරුවාඩි (කුරුවාඩිය)

### විසාගාපටම් දිස්ත්‍රික්කය (විසාකපට්ටන දිස්ත්‍රික්කය)

ඉරුවාඩ (ඉරුවාඩය) රේගුලපාඩු (රේගුලපාඩුව) නාගුලාපල්ලෙයි (නාගුලපල්ල) බිම්ලිපටම් (බිම්ලිපටුන) එරුකොණ්ඩ (ඉරුකන්ද) ගොවිපේත (ගොවිපෙත) අම්පවිල්ල (අම්පෙවිල) ගලාවිල්ලි (ගලාවිල) කාගම් (කාගම) නන්දිගාම් (නන්දිගම) කෝට්පල්ලෙයි (කෝට්පල්ල) පාල්කොන්ඩ (පැල්කන්ද) වඩම (වඩම) බෙල්ගාම් (බෙලුගම) කුනේරු (කුනේරුව) පුත්තුරු (පුත්තුරුව) පූරාරිගුඩ (පූවාරිගොඩ) උත්තරවිල්ලි (උත්තරවිල) අනුකුරු (අනුකුරුව) නරව (නරව) බන්දන (බන්දන) බංඩගාම් (බඩොගම) බොරිගුඩ (බොරිගෙඩ) දෙප්පගුඩ (දෙපාගොඩ) හුරුගුඩ (හුරුගොඩ) ජම්බුගුඩ (ජම්බුගොඩ) මරාගුඩ (මරාගොඩ) පත්තාන්ගුඩ (පතාන්ගොඩ) කණ්ඩුලපාඩු (කණ්ඩුලපාඩුව) ගුනාකල්ලු (ගෝනාගල) නාරිගම් (නාරිගම) දෙබරගුඩ (දෙබරගොඩ) කවුඩෙල්ල (කවුඩුල්ල)

ගෝදාවරී දිස්ත්‍රික්කය (නැගෙනහිර)

අල්ලවරම් (ඇල්ලවරම) අමලාපුරම් (අමලාපුර) අයිනවිල්ලි (අයිනවිල) බණ්ඩාරුලංකා (බණ්ඩාරළංකාව) චින්තනලංකා (චින්තනළංකාව) චින්තනපල්ලෙලංකා (චින්තනපල්ලෙළංකා) දේවරපල්ලෙ (දේවරපල්ල) එදුරුලංකා (ඇදුරුළංකාව) ගාඩිළංකා (ගාඩිළංකාව) ගෝඩිලංකා (ගොඩිළංකාව) ගෝපායලංකා (ගෝපායළංකාව) කෝමාරගිරි (කුමාරගිරිය) කොට්ටල්ලංකා (කොට්ටල්ලංකාව) කොට්ටපල්ලෙ (කොට්ටපල්ල) මාගාම් (මාගම) ථානේලංකා (තානේළංකාව) තුර්පුලංකා (තුරුපුළංකාව) වක්කළංකා (වකළංකාව) බෝදුනුරු (බෝදිනුරුව) දම්මපේත (දම්පෙත) එරම්පෙත (එරම්පෙත) ගොල්ලගුඩෙම් (ගොල්ලගොඩම) කල්ලේරු (ගල්ලේරුව) ලක්කාවරම් (ළක්කාවර) ලේල්ලවාය (ලෙල්ලවාය) නදීකුඩි (නදීගොඩ) නන්දිගාම (නන්දිගම) සරිවෙල (සරිවෙල) සෝමනමල්ලු(සෝමනමලුව) තුම්මලම (තුම්මලම) දේමුදූලංකා (දෙමුදූළංකා) දොනලංකා (දොනළංකා) ඉත්තලපාඩු (ඉත්තලපාඩුව) ජාජිළංකා (ජාජිළංකාව) මඩුපල්ලෙ (මඩුපල්ලි) නාගල්ලපල්ලෙ (නාගල්ලපල්ල) තුලක (තුලක) පෙද්දාලංකා (පෙද්දාළංකා) උසිරිකළංකා (උසිරිකළංකාව) වලසපාඩු (වලස්පාඩුව) කෝලංකා (කෝළංකාව) කොංගෝඩු (කෝංගොඩ) කරප (කරප) වාකඩ (වැකඩ) අනන්තගිරි (අනන්තගිරිය)

ගෝදාවරී දිස්ත්‍රික්කය (බටහිර)

කාල්ල (ගාල්ල) මෝගල්ලු (මෝගල්ල) වෙල්ලතුරේ (වැල්ලතුරේ) ආගදාල්ලංකා (අගදාළංකා) අල්ලිවීඩු (අලිවීදිය) ගුඩිවාගලංකා (ගොඩවකළංකා) කෝමතිලංකා (කෝමතිළංකාව) මානුරු (මානුරුව) නාගුලපල්ලෙ (නාගුලපල්ල) එල්ලෝර් (හෙළඌරුව) නදීපල්ලෙ (නදීපල්ල) ප්‍රත්තිකෝලංකා (ප්‍රතිකෝළංකා) රාවුළකුත්ත (රවුළුකුන්ත) කන්දරවිල්ල (කඳරවිල) වල්ලූරු (වල්ලූරු) එරම්පේත (එරම්පෙත) ප්‍රක්කිලංකා (ප්‍රක්කිළංකාව) පෝලමූරු (පෝලමුරේ) වදලි (වදල) මාමුදූරු (මහමුදූරුව) කන්දවිල්ලු (කන්දෙවිල) දූව (දූව) වාකපල්ල (වාකපල්ල) රාව්පාඩු (රාව්පාඩුව ) තෝනාල (කෝනාල) වෙලගපාඩු (වෙලගපාඩුව)

## කුවිනි පෙළපත




1. කු + විනි (පොළොව විදින්නිය, [Queen])

# සිංහළ නම

මහාවංසය පවසන ලෙසට මුල් ම සිංහළයා (සිංහබා) ගේ උපත වූයේ තිරිසන් - මිනිස් සහවාසයෙකිනි.[1] මෙ වැන්නක් විය හැකි ද?

සිංහබා සිංහයා මැරූ හෙයින් ඔහුත් ඔහු හා සැබැඳි හැම දෙනාත් සිංහළ වූයේ ල.[2] එ සේ නම් සිංහයන් මැරූ දඹදිවේ සෙස්සනුත් ඔවුන් ගේ පරම්පරාත් සිංහළ නුවූයේ ඇයි?

වංසකතාවේ හැටියට මුල් ම සිංහලයා වූ සිංහබාහු තැනූ නගරය සිංහල පුරය නො වී සිංහ පුරය වූයේ ඇයි? මෙයින් හැඟෙනුයේ ඔහු ගේ පෙළපත සිංහළ නො ව ගුජරාටි 'සින්ග්' යන්න නො වේ ද?

සිංහබා රජුට පුත්තු ම තිස් දෙ දෙනෙකි. මේ හැම දෙන ම මහාවංස කතාව අනුව සිංහළයෝ ය. ඔවුන් ගෙන් එකකු ගෙන් - එ නම් විජය කුමරු ගෙන් පමණක් සිංහළ ජාතිය ඇති වන්නටත් සෙසු එක් තිස් දෙනා ගෙන් දඹදිවේ ද සිංහළ ජාතිය ඇති නොවන්නටත් හේතු කවරේ ද?

විජය සිය පරපුර ගෙන යන්නට කුවෙනිය ගෙන් ලද දරු දෙ දෙන ජීවහත්ථ, දිසාල නමින් මහාවංසයෙහි දක්වෙති. විජය රජු එ තෙරින් ගෙන්නාගත් දෙ වැනි බිසව වඳ වූයෙන් ඔහු ගේ ලේ උරුමය ඇත්තෝ නම් අර දරු දෙදෙනා පමණෙකි. එහෙත් මහාවංසය පවසන්නේ ඒ දෙන්නා ගෙන් ලක්දිව වැදි පරපුර ඇති වූ බව යි. මෙයින් මැ ඔප්පු නොවන්නේ ද විජය, සිංහළ වරිගේ කෙනකු නොවන බව?

පස් වන කසුබු අබා රජ (ක්‍රි.ව. 908-918) දම්පියා අටුවා ගැටපදයෙහි විජය රජු සඳහන තන්හි විදෑ යැ යි දක්වයි. විදෑ යන්නෙහි අරුත විජාතික යන්න මිස විජය යන්න නො වේ. ජාති අරුත්හි දෑ යන්නක් සිංහළයෙහි නොලැබෙන හෙයිනි. මෙයින් හැඟෙන්නේ විජයාගමනයෙන් (ක්‍රි.පෙ. 483) අවුරුදු එක් දහස් පන්සීයක් පමණ ඉකුත් වීත් ඔහු විදෑවකු ලෙස ම සැලැකුණු බවෙක් නො වේ ද?

---

1. "සිංහ තෙම ගොදුරුගෙන පෙරළා යන්නේ දුර දීම ඇය දුක සිත් ඇලවූයේ කන් හෙළා ගෙන නඟුට සලමින් සමීපයට ආ ය. ඕ තොමෝ සිංහයා ගේ අවයවයන් පරාමර්ශනය කළා හෝ අත ගෑ ය. සිංහ තෙමේ.....ඇය හා සහවාසයෙහි හැසුරුණේ ය. ඒ රජදූ තොම ඌ හා සහවාසය කරණ කොට ගෙන සුදුසු කාලයෙහි පුතෙකු යි දුවකු යි නිඹුල් දරු දෙ දෙනකු වැදුවා." - (මහාවංසය, සිරි සුමංගල - බටුවන්තුඩාව)
2. "සිංහබාහු නරින්දො සො - සීහමාදින්ණ වා ඉති සීහළො තෙන සම්බන්ධා - ආහු සබ්බෙපි සීහළා" -ම.ව. 7 පරි. 44 ගා.

සෙල් ලිපි සිය ගණනින් දක්නට ලැබෙන මේ රටේ සිංහල ජාතියේ ඇරැඹුම පිළිබඳ මේ පුවත - විජයාගමනය කිසියම් සෙල් ලිපියෙක සඳහන් නොවීමත්, සෙල්ලිපි අකුරු පේළි අතරින් අන් ලිපි පවා දුටු වෙසරද සෙනරත් පරණවිතාන සූරීන් හට මෙ වැන්නෙක හෝඩුවාවක් හෝ දක්නට නොලැබීමත් පුදුමයෙක් නො වේ ද?

විජයාගමනයට වඩා නුදුරු අනුරපුර යුගයේ සිංහළ රජුන් විජය රජුට නො වැ, (එ ම පෙළ වැනැසූ) පඬු අබා මහ රජුට නෑ කම් කියූ බවට නම් සෙල් ලිපිවලින් දෙස් ලැබෙයි.[3]

කව් බසින් ලියැවුණු මේ (කතරගම තුන් වැනි) සෙල් ලිපිය වඩා ම ළ-ගන්නාසුලු ය.

"තරඟ වැළැ රැළි ඔත්
මහ මුහුන්ද් මෙ දියුල් හත්
නුබ ගඟ මෙ දළ මුත්හරින් හොබනා
හත් උදා ගිරි කුළු මෙ මිණි කොඩුලු පළන්
දඹදිව් පොළොව් අග් මෙහෙස්න පළන්
මිණි සුබුළුවක් බන්දූ
නන්සිරි ලකළ සිරි ලක්දිව්හි
හිර් ගොත් කුලෙන් බට
පඬු අබා රජු ගේ පරම්පරාවෙන් ආවා වූ....."

පඬු අබා රජුට නෑ කමින් බැඳෙනු රිසි වූ සිංහළ රජුන් සිංහල ජාතියේ ඊනියා ආදි පුරුසයාණන් හා නෑ කම් නොකීමට ද බලවත් හේතුවක් විය යුතු නො වේ ද? ඉදින් එ සේ නෑ කම් කියැවිණි නම් ලාට රට වනයේ විසූ මිග රජු ද මනු රජ පෙළට වැටී හිරු ගොත් තතුව ද ලැබෙන්නට තිබුණා නො වේ ද?

අජන්ත ගුහාවෙහි ඇති සිංහළයන් ගේ ගොඩ බැසීම යැ යි දැක්වෙන සිත්තමෙකි. යාන වාහන සහිත ව මහ පෙරහරින් උදාර ලෙස ගොඩ බස්නා පිරිසෙක් එ ම සිතුවමෙන් දැක්වේ. විජය පිරිස මෙහි ගොඩ බටුයේ නන්නත්තාරේ ආ අසරණ පිරිසක් ලෙස බවත් පළ ය. එහෙත් මේ සිත්තම විජයාගමනය ලෙස සලකන්නෝ ද වෙති. මෙය දඹදිවේ ම සිත්තම් කැරුමෙන් පෙනෙන්නේ එ රටින් මෙ රටට නොවැ,

---

3. කතරගම 3 ලිපිය, ශිලා ලේඛන සංග්‍රහය (4 කොටස), මැද උයන්ගොඩ විමලකිත්ති, පිටු - 133 -139 හා 4 මිහිඳු ගේ සෙල් ලිපිය, එහි ම පිටු 140-141

මෙ රටින් එ රටට සිංහලයන් ගේ ගොඩ බැසීමෙක් නො වේ ද?

අජන්තා ගුහා සිත්තම් ඇඳුණු ගුප්ත යුගයෙහි බුද්ධගයාවේ සිංහළ විහාරයක් පැවැති බවත් සිංහළ සිල්පීන් එහි යෑම නියතයෙන් විය හැකි බවත් ඉතිහාසයෙන් පිටු බල ලබන කරුණෙකි.

විජය කුමරු ගේ ගොඩ බැසීමත් බුදු රදුන් ගේ පිරිනිවන් පෑමත් එක දා සිදු වීම් ලෙස මහාවංසය දක්වයි. එහෙත් මේ වකවනු මැනැවින් පිරික්සා බැලූ ගයිගර, පරණවිතාන ආදි විසාරදයෝ බුදු පිරිනිවනින් වසර හැටකට පසු විජයාගමනය වූ සේ පිළිගනිති. මේ පිළිගැන්ම අනුව සිංහළ ජාතියේ ඇරැඹුම බුදු පිරිනිවන සිදු වූ දා විජය රජු ගෙන් සිදු වී යැ යනු හුදු ප්‍රබන්ධයක් නොවන්නේ ද?

විජයාගමනය කිතු වසින් පෙර පස් වන සියවසේ සිදු වීමෙකි. එය මේ අයුරින් පොත් ගැන්වුණේ එයට දහස් වසරකට පමණ පසු කි.ව. පස් වන සියවසේ දී ය. එ සේ නම් එ තෙක් කට කතාවක් ව දහස් වසරක් තිස්සේ ආ පුවතක් පොත් ගැන්වීමේ දී ඇත්තෙන් වෙනස් වීම කවර පුදුමයෙක් ද?

## කුමරතුඟු මතය

සිංහබාහු සිංහ ලාංඡනයක් කළ ද විජය මෙහි වැද කෙළේ යක්ෂ ලාංඡනයෙකි. එ හෙයින් විජය පිරිසට අර සකු නියරින් හිමි විය යුත්තේ සිංහල නො ව යක්ෂල නාමය යි. එහෙත් බුදුන් විසින් ද ගිරිදිවයිනට නෙරපුණ හ යි වංසකතාකරුවන් කියන මෙ දිව් වැසි යකුන් මුළුමනින් ම ලාංඡනය කිරීම විජය පිරිසට ද උගහට හෙයින් දෝ පඬු අබා සමයෙහි යක්ෂයෝ ම නැඟී සිංහ ලාංඡනයෙහි යෙදුණ හ. පඬු අබා කුමරුත් ඔහුට හවුල් වූ යකුනුත් නිසා සිංහල නාමය වූ සේ ගැන්ම වඩා තකුහුරු ය.

## කුරුඳු - සිංහල

සිංහල යනු සකු බසින් කුරුඳුවලට නමෙකි. කුරුඳු නිසා නම ගිය රටෙකි මේ. ඇතැම් විට සිංහල යැ යි කුරුඳු ගැනුණු හෙයින් මේ රටත්, මෙහි වැස්සනුත්, උන් ගේ බසත් සිංහළ වුණා යැ යි කෙනකුට සිතෙනු විය හැකි යි.

ඒ දක්වුණේ ශ්‍රී චාර්ල්ස් ද සිල්වා සූරීන් ගේ අදහසෙකි.

අරාබි යනු එක්තරා අස් කුලයකට වහරේ එන නමෙකි. සෙන්ධව යනු ද එ බඳු ම නමෙකි. එහෙත් අරාබි අසුන් නිසා එ රට අරාබි වී යැ යි ගත හැකි නම් පරංගි නම් ලෙඩේ නිසා ඒ ලෙඩේ බෝ කළවුන් ගේ රට ද පරංගි වී යැ යි ද ගත හැකි වෙයි.

සිංහළයෙහි බෙහෙවින් වැවෙන ගම් මිරිස් ද සකු බසින් හැඳින්වෙනුයේ සිංහලී, සෛංහලී, සිංහලස්ථා යන නම්වලිනි (රාජනිඝණ්ඩුව). සිංහලයෙහි බෙහෙවින් ලද හෙයින් කුරුඳු සිංහල නම ලැබුවා මිස කුරුඳු නිසා සිංහළ නම වී යැයි ගැනීම නො යෙදෙයි.

## සිංහ + හෙළ > සිංහළ

"සිංහයෝ නම් විජය පිරිස හා පැමිණි පිරිස යි. හෙළයෝ නම් ආදියේ සිට ම මෙහි වූ දනෝ ය. මේ දෙගොල්ලන් ගේ මුසුයෙන් සිංහ + හෙළ එකතුවෙන් සිංහළ නම් ඇති වූයේ ය" යනු තව ද මතයෙකි. සිංහ හෙළ යනු සිංහෙළ වී පසු ව සිංහළ වීමට වදන් තියරින් ඉඩ ඇතත් ලෝ දහම් තියරින් නම් ඉඩ නො ලැබේ. තමන් පැරැදවූ සිංහ ජන මුළේ නම දූයේ මුලට ගැනීම ආත්ම ගෞරවය ඇති කවර නම් දූයකට ගැළැපේ ද? සැක්සන දනන් හා මුසු වූ ඇංග්ලෝ දනන් (ඉංගිලිෂ්) නමින් පළ වූයේ ද රටේ වැඩි දෙනා 'ඇංග්ලෝ' දනන් ම වූ හෙයිනි. මේ අතින් බැලුව ද සිංහ යන්නට දූයේ මුලට ඇදී එන්නට කෙසේ වත් ම ඉඩෙක් නො ලැබේ.

## චිං + ගල > සිංහල

"චිං නම් චීන්නු ය. ගල නම් මෙ දිව් වැසි දනෝ යි. මේ දෙ ගොල්ල ගේ මුසුයෙන් 'චිංගල' නමත් එහි මිනිස්සුත් ඇති වූ හ." මේ වනාහි යුරෝපා දනන් හට මෙ රට දනගන්නට ලැබුණ පසුගිය සියවස්හි ළංකාව ගැන ප්‍රංස බසින් ලියැවුණු ලියැවිල්ලක් ඉංගිරිසියට පෙරළන 'ද සිලෝන් ඇන්ටික්වේරි' සඟරාව පළ කළ මතයෙකි. මෙයත් ආරංචියක් විනා මතයෙක් නො වේ.

## ශ්‍රී හෙළ > සිංහළ

''දෙමලු නොමුසු මිනිස්සු ය. ආදියෙහි මේ රටට වත් දෙමලු මුසු වූ දනනැ යි - මිශ්‍ර ජාතියෙකැ යි, මෙ රැටියනට ගැරැහීමට සිතූ හ. එ සේ සිතා දෙමල ඉළම් යන්නේ බිඳගැනුණු එළු යන්නෙන් වූ හෙළ යන්නට ශ්‍රී හෙළ හෙවත් ඊහෙළ යැ යි කී හ. එය ම පසු ව සීහෙළ හෙවත් සිංහළ බවට පෙරැළිණි.''

මෙය දෙමල හැදියාව (ද ටැමිල් කල්චර්) නම් සඟරාවේ පළ වූ මතයෙකි. මෙ බඳු මත විමැසීම ද අපරාධයෙකි.

## ගයිගර මතය

සිංහළ යනු සකු පදයක් බවත් හෙළ හෙවත් එළු යන්න එයින් බිඳගැනුණ බවත් පුවසුරු විල්හෙල්ම් ගයිගර සූරීහු දක්වති. සිංහලයෙන් නොව, සකුයෙන් ම නිපැදියාව ලැබෙන හෙයින් සිංහල යනු ගයිගර සූරීන් ගේ මතයෙන් අසිංහල පදයෙකි.

එහෙත් පැරැණියාව අතින් සලකන කල සිංහළ යන්න හෙළ යන්නට වැඩිතර ද යනු විමසා බැලිය යුත්තෙකි. සිංහලයට වඩා හැම අතින් ම පැරැණි වහර වූ සේ ද, වඩා පුළුල් වහර වූ සේ ද පෙනෙනුයේ හෙළ බසින් නිපැදියාව දක්වත හැකි හෙළ යන්න ම යි. අපේ රටට ඉපැරැණි නම වූ ළංකා යනු නිපන්නේත් හෙළයන් ගේ බිම යැ යන හෙළන් කා යන්නෙන් බව විමසන කල පෙනී යන කරුණෙකි.

## සිවු හෙළ > සීහෙළ > සිංහළ

සිංහළ නම පිළිබඳ ව ඉතා ම විදුහුරු යැ යි ගත හැකි වූ ද, නවතම වූ ද මතයක් වෙල්ලාල ජයමහ සූරීහු පළ කළ හ. ඔවුන් ගේ ම වදනින් එය මෙ සේ යැ.

''සිවු හෙළයෝ නම් මෙහි මුල සිටැ විසූ අසුර, රකුස්, යක්, නා යන සිවු කුලෙහි හෙළයෝ යැ. පඬු අබාවෝ දඹදිවින් නිබඳ ඇදෙන උවදුරු දකැ, තව තව මෙ සේ බිඳී ගිය හොත් රට දැ වැටී නැසී යති යි බිය පත් වැ, මේ පැරැණි සිවු හෙළ කුල එක් කොටැ සිවුහෙළ

නමින් හඳුන්වන්නට අණ කළ හ. මෙ සේ සිවු හෙළ යන්න කලක් වැහැරැවීමෙන් නිපන් සීහෙළ යන්න බලා සියලු කල්හි රටත් දැයත් දඹදිවට පාවාදෙන්නට සිතූ ඇදුරෝ 'සීහළ'යන්නක් ද සකු ඇදුරෝ 'සිංහල' යන්නක් ද මවාගත් හ.

එහෙත් හෙළ රටට, හෙළ කටට එකතින් මැ හුරු යැ, සීහෙළ යන්න. බැලුව මැනැවි නිපැදියාව.

| | | |
|---|---|---|
| | සිවු හෙළ | > සීහෙළ |
| | සිවු පද | > සීපද |
| | සිවු රැස්ස | > සීරැස්ස (හීරැස්ස) |
| තව ද | මුල් ගිරිගල | > මූගිරිගල |
| | නුග පේ | > නූපේ |
| | දෙව් දුනු | > දේදුනු |
| | ඔව් මියා | > ඕමියා |

යනු ද සලකන්නැ.

"අපේ මුල සීහළ හෝ සිංහල හෝ නො වැ, සිවු හෙළ බව මැ සලකත් වා:"

- *එළිය සඟරාව 4 වෙළුම, 8 කලබ, පිටු 244*
*246* *(1963 නොවැම්බර් 6)*

වෙල්ලාල ජයමහ සූරීන් ගේ මතයෙන් සිංහල යනු හෙළ වදනෙක් නො වේ, සකු වදනෙකි. මූර්ධන්‍ය 'ළ' නොලැබෙන නාගරී (සකු) හෝඩියේ අකුරින් ලිවීමේ දී සිංහළ යනු සිංහල වී වහරට ගියේ ය. පාලි සීහළ' යන්නට මුල් වූයේ ද අපේ සිවුහෙළ යන්න බව එ මැ මතයෙන් කියැවේ. දෙමළ මහා වදන් කොසු කරු වයියාපුරි පිල්ලේ සූරීහු ද පාලි වදනක් වූ සීහළ යන්න මැ සිංහළයන් ගේ රටැ යි යන අරුත් ඇති දෙමළ ඊළම් යන්නෙහි මුල බව පවසති.

ඊළම් (තා) පාලි සීහළම් > සීළාම් > ඊළාම් 1. ලංකාව (සිංහළම්) - දෙමළ මහ වදන් කොසුව, 382 පිට.

සකු බසෙහි 'සිංහල' යැ යි යෙදෙනුයේ අපේ මැ සිංහළ වදනින් නැඟුණක් ලෙස ගැනීමට ද වදන් නිපැදියා නියරින් ඉඩ ලැබෙයි.

දිගු අකුරක් කෙටි වීමේ දී බින්දුව (ං) එ තැනට පැමිණීම ඇතැම් ඉපැරැණි හෙළු ලකුණෙකි.

| නිද. | හේ + බල | > හෙංබල (හෙම්බල) |
|---|---|---|
| | ඒ + බා | > එංබා (එම්බා) |
| | ගී + පොල් | > ගිංපොල් > ගිම්පොල් |

''මහා භාරත, කථා සරිත් සාගර, දිව්‍යාවදාන, කෞටිල්‍ය අර්ථ ශාස්ත්‍ර, භගවත් පුරාණ ආදියෙහි සඳහන් වන සිංහල නාමය, සැබැවින් ම සිහබා පුවතට වඩා පැරැණි යැ යි පිළිගත යුතු යි'' යනු මහ ඇදුරු ඇම්.එච්. පීටර් සිල්වා සූරීහු පවසති.

මෙ ම සිංහළ නමට ද සිංහළයන් ගේ මවුබිම වූ ලංකා[1] නමට ද මුල් වූ සේ සැලැකෙන හෙළ නම වඩාත් පැරැණි බව අමුතුයෙන් කිව යුතු නො වේ. හෙළ නාමය ශතපථ බ්‍රාහ්මණයෙහි ද සඳහන් වීමෙන් පෙනෙනුයේ මෙයට වසර දෙදහස් පන්සියයකට (ක්‍රි.පූ. 600) පමණ පෙර ද හෙළයන් උතුරු දඹදිවේ සැරිසැරූ බව යි. එ සේ ම, කිතුවසින් පෙර 2000 පමණේ දී සැකැසි සේ වියතුන් පිළිගන්නා සකු බසෙහි ද, එයටත් මඳක් ඔබ්බට යන වේද සකු බසෙහි ද මුල් වදන් ලෙස පෙනෙන හෙළ වදන් රැසක් ලැබෙන සැටියෙන් පෙනෙන්නේ ද ඉන්දු දෙණියට වන් ආරිය දනන් හෙළයන් වූ වග යි.

මෙ තෙක් කරුණු දැක්වුණේ මේ දෙසත්, රැසත්, බසත් හැඳින්වීමට සම ලෙස යෙදෙන 'හෙළ-සිංහළ' දෙ නම ම විදෙසෙකින් ගොඩ බෑ නම් නොවන බව දැක්වීමට යි, වෙසෙසින් ම 'සිංහළ' නාමය පිතෘඝාතක කර්මයක් කිරීමෙන් ලාට රටේ මිනිසකු නිසා සිංහළයන් ලද දායාදයක් නොවන බව දැක්වීමට යි.

---

1. ලංකා, හෙළයන් ගේ බිම - හෙළන් + කා > ලංකා

## සුතිතිය (ස්වස්තිකය)

පුවසුරු සෙනරත් පරණවිතාන සූරීහු ඉන්දු ගංගා දෙණියේ සැබියාවට අයත් ඉපැරණි අකුරු කියැවීමට ගත් තැත මේ යුගයෙහි පුරාවිද්‍යා ක්ෂේත්‍රයෙහි වූ අගනා පිරියෙසුමක් සේ සැලැකිය හැක්කෙකි. මෙය වඩා ම වැදගත් මේ පිරියෙසුම නිසා මත්තෙහි වන වැඩ සලකන විට ය.

එ ම අකුරු කියවා බැලීමේ දී එ වියතුන් හට මේ රටේ ආදි ම යුගයේ සෙල් ලිපිවල මුලින් අගින් උඩින් යටින් හෝ වූ කිසියම් සලකුණු වෙසෙසෙකින් කිසියම් එළියක් නැත හොත් පිටුවහලක් ලැබුණු බව කිව යුතු ය.

ස්වස්තිකය හා දූති පෝරුව ඉන් සලකුණු දෙකෙකි.



ස්වස්තිකය



දූති පෝරුව

මේ ලකුණු ලැබෙන මේ රටේ සෙල් ලිපි අතර

1. හේනන්නේගල සෙල් ලිපිය

2. දඹුලු ලෙනේ දිය කාන්දු වන තැනට පහළින් පිහිටි සෙල් ලිපිය

3. ගමණි උති ගේ නෑ කුමරියක ගේ කටාර පූජාවක් දක්වන සෙල් ලිපිය වෙයි.

මේ සෙල් ලිපිවල එන ඉහත කී ලකුණු 1, 2, 3, රූප සටහන් පිළිවෙළින් දක්වයි.


(1)


(2)


(3)

මේ ලකුණුත් මේ හා බැඳෙන තව ද සලකුණුත් ඇති සෙල් ලිපි ලක්දිවේ ඇති බව දක්වන පරණවිතාන සූරීහු මේ ලකුණින් ඒ සෙල් ලිපි පිහිටැවූ පින්වතුන් අයිති රජ පෙළට පොදු වූ (ගමණි) නම් දක්වන බව ද පවසති.

පරණවිතාන සූරීන් දක්වන හැටියට ස්වස්තිකය උසුලන දතිපෝරුවේ ලකුණ හාරප්පා මොහන්ජොදාර යන දෙතන්හි ලැබෙනුයේ මෙ සේ ය.


හාරප්පා


මොහන්ජොදාර

මේ අනුව පරණවිතාන සූරීන් ලක්දිවේ ලැබෙන මේ දති ලකුණින් ගමණි යන්න අදහස් කළා සේ එය ම පැරණි දඹදිවේ ග්‍රාමණි යන සකු වදන සඳහා යොදාගත් සේ අඩමාන කෙරෙති.

ස්වස්තිකය හා දති පෝරුව මේ රටෙහි ලැබෙන්නේ සෙල් ලිපිවල ම පමණෙක් නො වෙයි. ඉපැරණි කාසිවල ද ලැබෙන්නේ වෙයි.

1. අලියා සහ ස්වස්තිකය

තිස්සමහාරාමය, මාන්තොට, අනුරාධපුරය, පුලියන්කුලම (සියඹලාවැව) මිහින්තලේ වල්ලිපුරම (වැලිපුර) ඉරණමඩු (රණමඩුව) යන තැන්වලින් ලැබුණු මේ කාසිවල දූති හතරේ උඩ ඉරේ නැඟි දඬුවේ සවි කැරුණු දකුණට නැමුණු ස්වස්තිකය වෙයි.

2. අස්වයා සහ ස්වස්තිකය

මින් ලැබී ඇත්තේ එක් කාසියෙක් පමණෙකි. එ ද කඳුරුගොඩ විහාරය වූ බිමෙනි. යාපා පටුනෙහි වූ මේ කඳුරුගොඩ එහි මුල් පදිංචිකරු සිංහළයන් මෑත යුගයෙහි දෙමළ වීම නිසා අද හැඳින්වෙන්නේ කන්දරෝඩ්ඩෙයි යන දෙමළ වදනිනි. මෙහි ලැබුණු කාසියෙහි දූති හතරේ ලඹ ඉර මත දඬුවේ නැඟුණු ස්වස්තිකය වෙයි. අනික් පස ඇත්තේ අස්ව රූපය යි.

3. සිංහයා සහ ස්වස්තිකය

මේ කාසියෙහි එක් පසෙක සිංහ රූ සටහන වෙයි. එහෙත් මේ සිංහයා ගේ හිස කේසරවලින් තොර ය. කාසියේ අනෙක් පැත්තේ දූති හතරේ ඉර මත දඬුවේ නැඟුණු දකුණට නැමුණු ස්වස්තිකය වෙයි.

4. ගස සහ ස්වස්තිකය

මේ කාසියෙහි ඉදිරි පස ගසේ රූපය දැක්වෙයි. ගසෙහි ද අතු හතරෙකි. එ ද හතරට බෙදුණු කොටුවෙකින් වට වී ඇත්තේ ය. මේ කාසියේ අනෙක් පස දූති හතරේ ඉර මත දඬුවේ සවි කැරුණු ස්වස්තිකය ලැබේ. එය පමණින් මඳක් ලොකු ය.

මෙහි සිව් කඳත් සිව් අත්තත් දූති හතරේ පෝරුවත් සිව් බිමක් වැන්නක් හඟවන සූතිතිය හෙවත් ස්වස්තිකයත් හතර පිළිබඳ ව කිසියම් අදහස් සංකේතයෙන් හඟවන්නා වැනි ය. කලින් දක්වුණු කාසිවල දක්නට ඇති අතු හතරේ දූති පෝරුවත් ස්වස්තිකයත් හතර පිළිබඳ ව එ බඳු ම අදහසක් දක්වයි. හෙළදිවෙන් ලැබුණු ස්වස්තිකය හා දූති පෝරුව ලකුණත් මොහන්ජොදාරෝ-හාරප්පා නගර නටබුන්වලින් මතු වුණු දූතිපෝරුව හා ස්වස්තිකයත් සමාන අදහසක් දක්වන සංකේත ය යි සිතිය හැකි ය.

මේ රටේ වැඩි දෙනා ගේ පිළිගැනීමේ හැටියට ස්වස්තිකය බුදුනු ලකුණෙකි. බුදුන් ගේ සිරි පතුලේ වූ හ යි කියන දෙ තිස් මහ මඟුල් ලකුණු අතරින් ස්වස්තිකය ද එකෙකි. එහෙත් බුදු සිරි පතුලේ වූ එ ලකුණ මඟුල් ලකුණෙකැ යි පැවැසුණේ බුදුනට පෙර සිට ම නිමිති දන්නවුන් අතර එ බඳු පිළිගැනීමක් වූ හෙයින් විය යුතු ය. ස්වස්තිකයේ පැරැණි බවට මේ හොඳ නිදසුනෙකි.

නාසි ජර්මනියෙහි ද ස්වස්තිකය ඉහළින් ම තැන් ලද බව කිව යුතු ය. හිට්ලර් ස්වස්තිකය සැලැකුයේ ජර්මනුන් ගේ නුමුසු ආර්ය බව දැක්වීමේ ලකුණක් හැටියට යි.

ස්වස්තිකයෙහි මුල අග විමසා බැලීමේ දී පළමු කොට ම ඒ නමේ තේරුම, ඒ නමේ නිපැදියාව විමසා බැලීම ඉතා වැදගත් වෙයි. ස්වස්තිකය යනු සකු (සංස්කෘත) වදනෙකි. සංස්කෘත යන්නෙහි අදහස නම් සකස් කැරුණු යන්න යි. මේ සකස් කැරුම හෙවත් සංස්කෘත කිරීම වූයේ කිසියම් වඩා පැරැණි බසෙකින් බව සකු වදන් විමසා බලන විට පෙනෙන සැබෑවෙකි. මේ අනුව ස්වස්තික යන්නෙහි මුල් රුව හා ගැළපෙන වෙන බසකට අයත් මුල් වදනක් විය හැකි ය.

නාගයා ගේ පෙණ ගොබයෙහි දක්නට ලැබෙන ගයනු කිති යුගලයක් බඳු සටහනට සොවැති යනු හෙළ බසේ යෙදෙන නම යි. සොවැති යන්නෙහි නිපැදියාව මෙ සේ වෙයි.

සිවු වතු > සූවතු > සුවතු > සුවැති > සොවැති

සොවැති නම් වතු හතර යි; හෙවත් සතර ඉඩම යි. ගයනු කිති දෙක හරස් ව තැබීමෙන් ස්වස්තිකයේ මුල් රුව වූ ඒ සිව් බිම ලැබෙයි.



1. නයි පෙණයෙහි සොවැති

2. සොවැති හරස් කිරීමෙන් සෑදෙන ස්වස්තිකයේ මුල් රුව

ස්වස්තිකයෙන් සැබැවින් ම ඇඟවෙන්නේ පැරැණි (නාගයන් ගේ) නගර සැලැස්මෙකැ යි ගත හැකි නම් ස්වස්තිකය යන සකු වදනට මුල් වූයේ සූතිතිය බඳු (යල් පිනීමෙන් අපවත් වුණු) සූතිති යන හෙළ වදන විය හැකි ය. සූතිති යන හෙළ වදනෙහි නිපැදියාව මේ වෙයි.

සිවු + තිති > (සුවුතිති) > සූතිති.

සිවු නම් හතර යි. සූවිසි සූතිස් යන තන්හි සූ යනු ද හතර යි. තිත් නම් බිම යි. බිම් එක් කොට සැලැකුණේ - බිමෙහි වූයේ තිත් + ඉ > තිති යි. මේ තිති යන්න තද්ධිත නාමයෙකි.

තිත් යනු බිම් අරුතෙහි යෙදෙන තවත් තැන් බෙහෙවි.

1. අපේ ම ඉපැරැණි වත්නම් නැටුම්හි පය ඔසවා බිම පිහිටුවීම තිත් එක (තෙය) තිත් දෙක (තිත් තෙයි) ඈ විසින් හැඳින්වෙයි.
2. සතුන් ගේ නැවැතුම් පොළ ද හැඳින්වෙනුයේ (තිත් පොළ) තිප්පොළ නමිනි.
3. නැවැතීමේ ලකුණ ද තිත නමින් ම හැඳින්වේ.
4. සකු තිරී යනු ද නවාතැන හෙවත් ඉඩම යන අරුත් දෙයි.

සූතිති යනු සිව් බිමක් හැටියෙන් ගත හැකි නම් එහි පෙනෙන සතර මහා ඉර සතර වීදියක් සැටියෙන් සැල කිය හැකි වෙයි. වීදි හතර නිසා බෙදෙන වතු හතරේ හෙවත් සිවු ඉඩමේ හතර වරිගයෙක හෙවත් කුලයෙක මිනිසුන් විසූ හ යි සැලැකිය හැකි ය.

දැන් සූතිතියට රුඳැවුමක් වූ අර දූති පෝරුව වැනි ලකුණ ගැන අපේ සැලැකිල්ල යොමු කරමු. මේ දූති පෝරුවෙහි ද තවු හතරෙක් වෙයි. මේ තවු හතරින් ද ස්වස්තිකයෙන් මෙන් කිසියම් අදහසක් සංකේතයෙන් හැඟැවෙන බව කිය යුතු ය. ස්වස්තිකය හා දූති පෝරුව එකට මෙන් ම වෙන වෙන ම ද දක්වෙන තැන් වෙයි. මේ ලකුණු හෙළදිවේ මෙන් ම මොහන්ජෝදාර - හාරප්පා ඉපැරණි නගරවලින් ද ලැබෙයි. මෙයින් පෙනෙන්නේ ආදි හෙළ බිමේ විසූ ජන කොටස් හා ඉන්දු දෙණියේ ජන කොටස් හා කිසියම් සමාන කමක් පැවැති බව යි.

ස්වස්තිකය පැරැණි නගර සැලැස්මක් හැටියට ගත හැකි නම් දූතිපෝරුවේ තවු සතරින් ද එහි විසූ සිව් ජන කොටස් සංකේතවත් කළ හැකි යි. මේ සිව් ජන කොටස අසුර, රකුස්, යක්, නාග යන සිව් හෙළයන් හෙවත් සිංහළයන් සේ ගැනීමට තුඩු දෙන තව ද බොහෝ දෙස් ඇත්තේ ය.

ලංකාවේ බ්‍රිතාන්‍ය යුගයෙහි විසූ පුරාවිද්‍ය කොමසාරිස්වරයකු වූ හෝකාට් නගර සකස් කිරීමේ දී රජ මාලිගයට සතර අත්හි වූ බිම් සතරෙහි සතර කුලයක් විසුම් ගැන්වීම් පිළිබඳ ව කෞටිල්‍ය ද පවසා ඇති බව දක්වයි.

සූතිතියෙහි හෙවත් ස්වස්තිකයෙහි මහා ඉරි සතර වීදි හතරකැ යි අපි සලකවමු. ලක්දිවේ එ බඳු වීදි පැවැති බවට දෙස් වෙයි.

1. අනුරපුර පොලොන්නරු නටබුන් අතරින් එ බඳු මහ වීදි දූන් මතු කොට ඇත්තේ ය.
2. රාවන ගේ අධර්මයෙන් රාවන කෝට්ටයත් මාළිගා පස් විස්සත් වීදි හාර ලක්ෂයකුත් මුහුදට ගිලී ගිය බව දත යුතු යැ යි රාජාවලිය පවසයි.
3. ඉක්බිති යන හෙළ වදන ඔස්සේ යටගියාව මතු කළ හොත් ඉන් ද පෙනෙන්නේ වෙන් වීම එක් බිතුයෙන් (එක් බිතියෙන්) වූ තරමට ගෙවල් එකට බැඳුණු වීදි මේ රටේ ඉපැරැණි යුගයෙක වූ බව යි.
4. වීදි යන්න ද හුදු හෙළ පදයෙකි. විහිදෙනුයේ විහිදි > වීදි යි. කඩපිල් ගෙවල් ආදිය අතරක් නොදී විහිදී ඇතියෙන් වීදි යනු සිංහළ අපට අනුරූත් නමෙකි. අපේ වීදි යනු සකු වීථි යන්නෙන් බිඳ ගන්නෝ ද වෙති. මෙ ද ස්වස්තික යන්නෙන් සූතිතිය බිඳගැනීමේ වැරැදි නියාවට සමාන ය.

## හෙළ අකුර

සිංහළ අකුරේ පිරිනමුව (පරිණාමය) පිළිබඳ වැ, මෙ තෙක් පළ වී ඇති මත දෙකෙකි. එ නම්:

අ. සිංහළ අකුර දඹදිවේ බ්‍රාහ්මී අකුරින් පිරිනැමුණු (පරිණාමය වුණු) වග

ආ. සිංහළ අකුර මලයාලි ග්‍රන්ථ අකුරින් පෙහෙණුණු (පෝෂණය වුණු) වග යනු යි.

බ්‍රාහ්මී අකුර දඹදිව පුරා වැඩියක් පැතිරී ගියේ ලක්දිවැ දෙ වන පැතිස් රජුට සමකාලිකයකු වූ අසෝක රජු විසින් පිහිටැවුණු සෙල් ලිපි මඟිනි. හෙළදිවේ බ්‍රාහ්මී අකුරේ පැතිරීම ද දෙවනපෑ තිස් යුගයේ බවට දූනට මේ බිමින් ලැබී ඇති පැරැණි මැ බ්‍රාහ්මී අකුරු සෙල් ලිපි කිහිපයෙකින් මැ දෙස් ලැබේ.[1]

හෙළදිවේ බ්‍රාහ්මී අකුර, කි.පෙ. 3 සියවස සිටැ කි.ව. 1 සියවස තෙක් වැඩි වෙනසකට පත් නුවූ බව එ අකුරෙන් ලියැවුණු සෙල් ලිපි අකුරු විමසා බැලීමෙන් පෙනේ. කි.ව. 1 සියවසේ සිට 7 සියවස තෙක් යම් යම් වෙනස්වීම්වලට ලක් වූ මේ අකුරු වැළ ඉන් පසු වඩා ඉක්මනින් වත්මන් සිංහළ අකුරු බවට හැරුණු සැටියෙක් එ සියවස්හි ලියැවුණු සෙල් ලිපි දක්වයි.

'ක' යන්නෙන් පිරිනමුව මේ අහඹු වෙනසට සුනිසි නිදසුනෙකි. (1 සටහන බලන්න) 'ක' යන්න බ්‍රාහ්මී අකුරින් පිරිනැමුණු අයුරු දක්වන එ මැ සටහන. කි.පෙ. 3 සියවසේ සිටැ 7 සියවස තෙක් එහි වැඩි වෙනසක් නො දක්වතත් 8 වන සියවසේ දී වත්මන් සිංහල 'ක' යන්නට නුදුරු හැඩයකට අදිසියේ මැ පත් වූ බව ද දක්වයි.

සිංහළ 'ක' යන්න ඒ අවදියේ මෙ බඳු ලහි වෙනසකට පත් වූයේ දඹදිවේ පල්ලව අකුරුවල බල පෑමෙන් බව ඇතැම් වියතුන් ගේ පිළිගැනීම යි.[2] එහෙත් අපේ 'ක' යන්නේ අදිසි වෙනස වූයේ වඩාත් ඈත යුගයෙකැ සිටැ එන්නා වූ ද, ඒ වන විටැත් යන්තර අකුරු සැටියෙන් වහරේ පැවැත්තා වූ ද අකුරු වැළකට අයත් 'ක'යන්නක් මතු වී ඒම නිසා යැ යි කියතොත් එය ඇත්තෙන් ඈත් නො වියැ හැකි යැ (1 සටහන බලන්න).

බ්‍රාහ්මී අකුරට වඩා පැරැණි දේසීය අකුරු වැළක් අපට වූ බවට මෙ බිමින් මැ දෙස් ලැබේ.

---

1. මිහින්තලේ අංක 2 ලෙන් ලිපිය (කි.පෙ. 3 සියවස) පිච්චන්දියාව සෙල් ලිපි (කි.පෙ. 3 සියවස) උත්තිය (කි.පෙ. 207-197) රජු ගේ කණ්ඨක චේතිය ලිපිය.
2. සිංහල අකුරුවල ඉතිහාසය - නන්දසේන මුදියන්සේ, II පි.

## ක යන්නෙහි පිරිනමුව

| | |
|---|---|
| ක්‍රි.පූ. 3 සියවස | |
| 1 සියවස | |
| ක්‍රි.ව. 2 සියවස | |
| 4 සියවස | |
| 5 සියවස | |
| 6.7 සියවස | |
| 8. සියවස | |
| 9. 10.සි.ව. | |
| 11-13 සි.ව. | |
| 14-15 සි.ව. | |
| 20 සියවස | |

1 සටහන

## බ්‍රාහ්මී නොවන සිංහල සෙල් ලිපි ලකුණු

ලංකා සෙල්ලිපි, 1 වෙ. (පරණවිතාන), පෙරවදන, XXXVi පිට

2 සටහන

බ්‍රාහ්මී අකුරුවලට අයත් නොවන ලකුණු රැසක් ම අපේ සෙල් ලිපි අතර තිබීම ඉතා සුවිසෙස් කරුණෙකි.[3]

බ්‍රාහ්මී නොවන ඉපැරැණි අකුරු සටහන් දක්වන ලිපි ද දැනට ලැබී ඇත්තේ යැ.[4]

වේවැල් තැන්න, තිසා වැව සෙල් ලිපි සලකුණු මින් වැදගත් තැන් ගන්නේ ඒවා ඉන්දු නිම්නයේ සලකුණු හා සමීප සබඳතාවක් දක්වන හෙයිනි (3 සටහන).

ඉන්දු දෙණි - ළංකා සලකුණු සැබැදියාව

ඉන්දු දෙණිය ළංකා සෙල් ලිපි ගෝරත්නය

3 සටහන

ඉපැරැණි හිරු දෙවොලක් වූ කොග්ගලැ හිරිගලේ වූ (i) ලිපියත් කොග්ගල කළපුවේ වන කොකා කෙටූ ගලේ (ii) ලිපිය හා හරක් අඩි කෙටූ ගලේ (යන්තර ගලෝ) වන (iii) ලිපියත් තව ද නිදසුන් යැ, බ්‍රාහ්මී අකුරට වඩා වත්මන් අකුරට සමීපකම් දක්වන අකුරු වැළක් වූ බවට. (4 සටහන බලන්න).

කොග්ගල සෙල්ලිපි



4 සටහන

## ගෝරත්නයේ එන රූප අකුරු

හරකුන් හණ ගැහීමත් උන් ගේ නොයෙක් ලෙඩවලට සිරුරේ ඒ ඒ තන්හි යම් යම් ලකුණු වගයක් පිලිස්සීමත් පෙර සිටැ මැ මෙ රටේ පැවැති සිරිතෙකි. මා මෙහි යෙදූ පෙරැ යන්න හෙළයා ගේ මෙන් මැ හෙළ හරකා ගේ ද අනාදි යටගියාවේ ආදිය සිහි පත් කරවන්නෙකි; හෙළයා ගරෙහි වසන්නා යැ යි හරකාට ගෙරි යැ යි නමක් දුන් එඬේර යුගය ද අංබරුවා. ගෙන් ගොවිකමට නත් මෙහෙවර ලබාගත් ගොවි යුගය ද සිහි පත් කරවන්නෙකි.

ශුතැරණි ගොළු අකුරට තිබි ලකුණු

| | | | | |
|---|---|---|---|---|
| ක් | කු | කා | කෙ | කේ |
| ද් | දු | දා | දෙ | දේ |
| ම | ම | මා | මෙ | මේ |
| ස් | ස | සා | සෙ | සේ |
| ය් | ය | යා | යේ | යෙ |

5 සටහන

එ සේ පවුලේ සතකු ලෙස මෙහෙ ගත් ගවයා ගේ ලෙඩට දුකට පලහන ලකුණු ඇතුළත් අගනා ගත් රුවනෙකි ගෝරත්නය.

ගෝරත්නයෙහි එන ඇතැම් ලකුණු, අකුරු හැටියට හඳුනාගැනීමට අපට බෙහෙවින් මැ උදවු වූයේ එහි එන නන් තිසුල (ත්‍රිශූල) නම් කොටැ තිබීම යි.

නිදසුන් විසින් මෙහි 4 සටහනෙහි එන 'එර තිසුල' ගනිමු. එහි තිසුලට මුලින් ඇති අඩ කොම්බුවක් බඳු අකුර එ යන්න යි. පැත්තට බැවුණු බින්දුව ර යන්න යි.

1. Non Brahamical Symbols (Introduction, Epigraphaia Zeylanica, p. xxvi)
2. R.A.S. Journal, Vol. xxxii, p. 163

## ඉපැරැණි හෙළ අකුරින් වදන්

| | |
|---|---|
| එ එ හ | ඕ ම |
| ම ය | රෝ |
| ඉ ම | රා රෝ |
| ව ර ම | රා රෝ රා ම |

6 සටහන

මෙහි එන එ යන්න යන්තරවලැ මන්තර ලිවීමේ දී යෙදූ එ යන්න මැ බව මෙහි එන, ඉපැරැණි අකුරට පිළි ලකුණු ගැන්වීම දැක්වෙන අංක 5 සටහනින් ද, එහි දැක්වෙන 6 සටහනින් ද දැක්වේ.

එ සේ මැ 'ම' යන්න සඳහා ද තිසුල ලකුණ යෙදූ බව ද එ මැ 6 සටහනෙහි ඕම්, මය වරම යන වදන්වලින් ද හෙළි වේ.

කොග්ගල සෙල් ලිපි තුනෙහි මැ එකසේ සඳහන් වන සමන යන නම ඒ අයුරින් අපට කියවාගත හැකි වූයේ තිසුල ලකුණ 'ම' යන්න ලෙස සැලැකීමෙනි.

## සතිරි අදහසක් දෙන සලකුණු

| | | | |
|---|---|---|---|
| | | | ජය |
| | | | බිඳුම (බෙද කිරීම) |
| | | | අඩ බිඳුම |
| | | | සමහම (එක් වීම) |
| | | | මුළු දීම (රංචු ගැසීම) |
| | | | මෙවුන් දම (මෛථුනය) |

7 සටහන

තිසුල ලකුණ පමණක් නො වැ දිය රැල්ල ලකුණ ද 'ම' යන්න ලෙස ඇත අවදියේ යන්තර අකුරු වැලේ යෙදුණු බව පෙනේ. රාම ගේ නමට කොඩිවිණ මතුරෙකැ යි සැලැකිය හැකි රා රෝ රාම යනු (6 සටහන) එ සේ කියවාගන්නට හැකි වූයේ මේ මැම් (5) (ම) අකුර නිසා ය.

### න යනු දෙකක්

'ම' යන්න සඳහා එකක් අනෙකට වෙනස් අකුරු දෙකක් වුව ද 'න' යන්න සඳහා මන්තර අකුරු වැලෙහි තරමක් වෙනස්කම් ඇති එක අකුරක් වූ බව පෙනේ.

කොග්ගල සෙල් ලිපියෙහි එ පෙදෙස අදිපතියා ගේ නම වූ සමන යන්න ලිවීමේ දී න යන්නේ යටි කෙළවර පිටතට හෝ ඇතුළට හෝ වකයෙන් යුතු වැ දෙ ලෙසකට යොදා ඇති බව පෙනේ

ඉපැරැණි හෙළ අකුරු වැල

| අ | ආ | ඇ | ඈ | ඉ | ඊ |
|---|---|---|---|---|---|
| උ | ඌ | එ | ඒ | ඔ | ඕ |
| ක් | ග් | ජ් | ඞ |  |  |
| ට | ඩ | ණ |  |  |  |
| ත් | ද් | න් |  |  |  |
| ප් | බ | ම |  |  |  |
| ය් | ර් | ල් | ව |  |  |
| ස් | හ් | ළ් |  |  |  |
| ං |  |  |  |  |  |

8 සටහන

(4 සටහන). න යන්න ලිවීමේ දී ලියන්නන් අතින් වූ යම් යම් වෙනස් කම් නිසා එකිනෙකට සුළුවෙන් නමුදු වෙනස් වුණ න යනු හතරක් මැ ලැබෙන බවත් ඉංගිරිසි 'එන්' අකුරට බෙහෙවින් සම වූ අපේ ඉපැරැණි න යන්න බ්‍රාහ්මී අකුරට ද බොහෝ පැරැණි යුගයෙකැ සිටැ හරක් වෙද පොතේත් යන්තර මන්තර පොතේත් රැකුණු බවත් කිව යුතු යැ.

වදන් කිහිපයෙකින් දියැ යුතු අදහස් සඳහා සංකේතයක් යෙදීම ද ගෝරත්නය ඇසුරින් මතු කැරැගත හැකි වෙයි.

ඛේද කිරීම සඳහා පිටතට හැරැවුණු මහ වරහන් දෙකක් බඳු ලකුණ ද හාද කිරීම හෙවත් සමහම සඳහා එකට බැඳුණු කොටු දෙකක් බඳු ලකුණ ද බාගෙට ඛේද කිරීම (අර්ධඛේදය) සඳහා හතරැස් කොටුව හා ඉවතට හැරුණු මහ වරහන බඳු ලකුණ ද, රංචු ගැස්වීම (මුළු දෙවීම) සඳහා වස්තිය බඳු ලකුණක් ද ජය ගැනීම හැඟැවීමට එකට එක මූණට

5. මැම: අප් නම් දිය යි. අප > අබ > අඹ > අම > ඇම: රැළි නඟන මහ දිය මහ ඇම > මැම.

# බළංගොඩ සෙල්ලිපිය



රාජකීය ආසියාතික සංගමයේ සඟරාව වෙ. XXXii , පි. 163

9 සටහන

මූණ සිටුවා තැබූ හෝ පෙරළා තැබූ හෝ තිකොන් (ත්‍රිකෝණ) දෙකක් බඳු ලකුණ ද යෙදිණ (7 සටහන බලන්න).

## බළංගොඩැ සෙල් ලිපිය

රාජකීය ආසියාතික සංගමයේ සඟරාවේ (වෙළුම XXXii, පිටුව 163) එන බළංගොඩැ සෙල්ලිපිය දැනට මෙ රටේ පළ වී ඇති පැරැණි මැ සෙල් ලිපිය ලෙස සැලැකියැ හැකි යි.

බැලූ බැල්මට අමුතු සතකු ගේ රූ සටහනක් හා තව රූ ලකුණු කිහිපයක් ඇති මේ ලිපිය තරු-සිව යුගයෙන් එහා අකුරුත් සලකුණුත් (සංකේතත්) දෙක මැ මුසු කොටැ ලියැවුණක් සේ සැලැකියැ හැකි යැ. තරු - සිව යුගය ආදි හෙළ අකුරු වැළ සපිරි බවකට පත් වැ පැවැති අවදියෙකි.

මෙ බව අප විසින් යන්තර - මන්තර අකුරු ඇසුරින් ද ගෝරත්නයේ එන සලකුණු ඇසුරින් ද මතු කැරුණු තරු අකුරු වැළ පිරික්සීමේ දී පැහැදිලි වේ (9 සටහන).

''සිංහයන් ලොප් කොටැ (කපා) තිති රජු ලක එක්සත් කොටැ විසූ බව යැ'' යන අරුත් ඇති ''සිත් ලොප් කොට් තිති කැත් ලක් එක් කොට් වුස් බා'' යන වැකිය දැනට ලැබෙන පැරැණිතම හෙළ බසට නිදසුනෙක් ද වෙයි.

හෙළ අකුරෙහි හා ඉන්දු දෙණි අකුරෙහි ද සැබැඳියාවක් පැවැති බව ගෝරත්නයෙහි ද අපේ පැරැණි සෙල් ලිපිවල ද ඇතැම් සම සලකුණු විමසා බලන විටැ පෙනෙන කරුණෙකි (3 සටහන). මේ ගැන වෙසෙසි පිරියෙසුමක් කළ සෙනරත් පරණවිතාන සූරීහු අප ගේ නොවක් පින ලබති. එහෙත් ඉන්දු දෙණියේ වැසි (හෙළ) දනන් වහර කළ බස සකු බස ද යන්න තව ද විමැසුමට ලක් වියැ යුතු සේ යැ.

අරීසෙන් අහුබුදු

බු.ව. 2538 පොසොන් පුර 15
කි.ව. 1994 ජූනි 23
ගල්කිස්ස,
ටෙම්ප්ලර පාර 140/40
කලා පුර.









වත්මන් පාසල්වල හා විශ්වවිද්‍යාලවල ද ඉගැන්වෙන ඉතිහාසයෙන්, විජයාගමනයට පෙර මෙ රට ඉතිහාසය ඉවත් කරනු ලැබ ඇත. එයට පෙර, එම යුගයේ ඉතිහාස තොරතුරු අප ගේ සාම්ප්‍රදායික ඉතිහාසයට ඇතුළු ව තිබිණ. පසු කලෙක මෙ වැනි අඩුවක් සිදු වීමට හේතුව ඉංගිරිසීන් අතින් ලංකා ඉතිහාසය සැකැසීම ය.

කුමරතුඟු මුනිදස්හු හෙළ බස පමණක් මහා පරිමාණයෙන් නඟාලූ හ. අරිසෙන් අහුබුදුවනට උරුමයෙන් ම පැවරී තිබුණේ හෙළ ඉතිහාසය සමාජගත කිරීම ය. වරින් වර විවිධ කෘති මඟින් මේ අදහස් ඉදිරිපත් කරන ලදි. ඔවුන් විසින් 'ඉර හඳ නැඟි රට' මහා පද්‍ය කාව්‍යය සම්පාදනය කරන ලද්දේ වසර තිස් දහසක් පැරණි යුගයක සිට වත්මන තෙක් අඛණ්ඩ ව ඉතිහාස තොරතුරු ගෙනහැර දක්වීමට ය. පද්‍යය යනු සිංහලයාට ආකර්ෂණීය මාධ්‍යය වීම නිසා ම අහුබුදුවන් එය තෝරාගත් බව පෙනේ.

අහුබුදුවන් විසින් හෙළ ඉතිහාසය පිළිබඳ ව මතු කරන ලද අදහස් විසි වැනි සියවසේ දෙ වැනි අඩෙහි දී සමාජයේ එ තරම් ඇගැයීමට ලක් නොවූ නමුදු විසි එක් වන සියවස ඇරඹුමත් සමඟ ඒවා සමාජයේ මුල් බැසගති. ඉංගිරිසි සිවිල් සේවකයන් වංශකථා මඟින් දුටු ලංකා ඉතිහාසය සාම්ප්‍රදායික සිංහල ඇසින් දුටු අරිසෙන් අහුබුදුවෝ සාම්ප්‍රදායික පද්‍යයෙන් ම එය ඉදිරිපත් කළ හ. තම ජීවිතය ම කැප කොට, හෙළි කළ හෙළ ඉතිහාසය අඩුවක් නැති ව ම අප අතර තබා යෑම ඉමහත් සැනසුමෙකි. තව දුරටත් ගවේෂණ කොට එය ඉදිරියට ගෙනයෑම වත්මන් තරුණ පරපුරට උරුම වී ඇත.

ආචාර්ය සූරිය ගුණසේකර




**නොමිලේ බෙදාදීම පිණිස යි**

**ප්‍රින්ට් වෙල් මුද්‍රණාලයයේ මුද්‍රාපිත යි.**